# විදසුන් උපදෙස්



කටුකුරුන්දේ ඤාණනන්ද භික්ෂු

# විදසුන් උපදෙස්

කටුකුරුන්දේ ඤාණනන්ද භික්ෂු

ISBN 955-8832-20-0

පොත්ගුල්ගල ආරණ්‍ය සේනාසනය
'පහන් කණුව'
කන්දේගෙදර,
දේවාලේගම.

ප්‍රකාශනය
ධර්මග්‍රන්ථ මුද්‍රණ භාරය
මහාභාරකාර දෙපාර්තමේන්තුව
2005

ප්‍රථම මුද්‍රණය - 1997
දෙවන මුද්‍රණය - 1998
තෙවන මුද්‍රණය - 2000
සිවුවන මුද්‍රණය - 2003
පස්වන මුද්‍රණය - 2005

පොත ලබාගත හැකි ස්ථාන

1. පොත්ගුල්ගල ආරණ්‍ය සේනාසනය
'පහන් කණුව' කන්දේගෙදර, දේවාලේගම.

2 රෝයල් ඉන්ස්ටිටියුට්,
191, හැව්ලොක් පාර,
කොළඹ 5.

3. ඩී. ටී. වේරගල මහතා
422, වැලිපාර, තලවතුගොඩ.

4. මහා භාරකාර දෙපාර්තමේන්තුව
2, බුලර්ස් පටුමග,
කොළඹ 07.

මුද්‍රණය
කොලිට් ප්‍රින්ටර්ස්
17/2, පැඟිරිවත්ත පාර, ගංගොඩවිල,
නුගේගොඩ.
ටෙලි : 011-4302312

# හැඳින්වීම

විදර්ශනා භාවනාවේදී පිළිපැදිය යුතු මනසිකාර විධිය සහ ආනාපාන සති භාවනාවේ ධම්මානුපස්සනාව අළලා දේශිත මෙම, 'විදසුන් උපදෙස්' දෙසුම, ධම්මපදයේ එන ගාථාවක අර්ථ කථනයක ස්වරූපයෙන් විකාශනය වන්නකි. භාවනාවට උපකාරවන්වන කිසියම් දේශනයක් පටිගත කරදෙන මෙන් පූජ්‍ය නවගමුවේ සුගුණසාර ස්වාමීන්වහන්සේ විසින් කරන ලද ඇරයුමක් අනුව, මීතිරිගල නිස්සරණ වනයේ වැඩවෙසෙන අවධියෙහිදී අප විසින් මෙය දේශනා කරන්නට යෙදුණි. කෙසේ වෙතත් පොදුවේ යෝගාවචරයන්ට ප්‍රයෝජනවත් විය හැකි යම් යම් දෑ මෙහිදී කියැවුනු බැවින් දේශනය මෙසේ මුද්‍රණද්වාරයෙන් එළිදැක්වීමට තීරණය කළෙමු. සසර දුක් කෙළවර කරගැනීමට දිව රෑ නොතකා වෙර වඩන යෝගාවචර පින්වතුනට මේ කුඩා පොත දිරියක්ම වේවා!

'විදසුන් උපදෙස්' දෙසුම මුද්‍රණය කරවා ධර්ම දානයක් වශයෙන් බෙදා හැරීම මැනැවැයි යෝජනා කළ මහාභාරකාර තැන්පත් ය. මාපා මහතා, එහි මුද්‍රණය බම්බලපිටියේ වජිරාරාමයේ වැඩ විසූ අපවත්වී වදාළ පූජ්‍ය කස්සප හිමිපාණන් වහන්සේ විසින් මහාභාරකාර දෙපාර්තමේන්තුවේ පිහිටුවන ලද 'කාශ්‍යප භාරය" (Bhikkhu Kashyapa Trust) මගින් කරවීමට විධිවිධාන යොදා ඇති බව දැනගන්නට ලැබුණි. එබැවින් මෙම ධර්මදානමය කුශලය, දෙසුමට ඇරයුම් කළ පූජ්‍ය සුගුණසාර හිමිපාණන්ට මෙන්ම අපවත්වී වදාළ පූජ්‍ය කස්සප හිමිපාණන්ටත් මහාභාරකාර මාපා මහතාටත් පරම ශාන්ත නිවන් සුවය පසක් කර ගැනීම පිණිස හේතු වාසනා වේවායි පතමු.

මෙයට, සදුන් ලැදි
**කටුකුරුන්දේ සද්ධානන්ද භික්ෂු**

පහන් කණුව ආරණ්‍ය සේනාසනය
කන්දේගෙදර, දේවාලේගම
1996.11.10

# ප්‍රකාශක නිවේදනය

අතිපූජ්‍ය ඤාණනන්ද ස්වාමීන් වහන්සේගේ 'නිවනේ නිවීම' දේශන මුද්‍රණය කොට, ඒ පිළිබඳ උනන්දුවක් දක්වන බැතිමත් බෞද්ධ සැදැහැවතුන් අතට පත්කිරීමේ මූලික අදහස අපතුළ ඇතිවීමුත්, එම මුද්‍රණය සඳහා වැයවන මුදල උපයා ගැනීම ප්‍රශ්ණයක් විය. මෙය විසඳීම පිණිස, අප කිහිපදෙනෙක් යෝජනා කොට සිටියේ ඒ සඳහා වැයවන මුද්‍රණ වියදම පමණක් අයකර ගැනීම පිණිස පොතක් සඳහා කිසියම් අනුපාතික විකුණුම් මිළක් නියම කිරීමයි. අපගේ මෙම යෝජනාව ගරු ඤාණනන්ද ස්වාමීන්වහන්සේ එකහෙළා ප්‍රතික්ෂේප කළහ. "ධර්මය මිළ කරන්න බැහැ. එය අවශ්‍ය අයහට නොමිළයේ ලබාගැනීමට හැකි විය යුතුයි...." යනුවෙන් උන්වහන්සේ මෙම වටිනා දහම් පොත "විකිණීම" කෙරෙහි අප අධෛර්යවත් කළහ.

එබැවින් උන්වහන්සේ අදහස් කළ පරිදි "නිවනේ නිවීම" දේශනා මාලාව මුද්‍රණය කොට නොමිළයේ බෙදාදීමේ ක්‍රියා පිළිවෙළෙහි ආරම්භයක් වශයෙන් ජී.ටී. බණ්ඩාර මහතා විසින් මහාභාරකාර දෙපාර්තමේන්තුවේ 'ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය' නමින් අරමුදලක් ආරම්භ කරනු ලැබීය. "නිවනේ නිවීම" පළමුවන වෙළුම සඳහා මුද්‍රණ වියදම තනිවම ඒ මහතා විසින් දරණ ලදී. එතැන් පටන්, මේ වන විට මුද්‍රණයෙන් එළිදක්වා ඇති 2,3.4,5,6,7 කාණ්ඩ මුද්‍රණය කිරීම සඳහා බලාපොරොත්තුවූවාටත් වඩා ලත් අනුග්‍රහය ධර්ම ප්‍රාතිහාර්යයක් ලෙස සැළකිය හැකිය.

එසේ ආරම්භ කරන ලද "ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාර අරමුදල" මගින්ම "පහන් කණුව ධර්ම දේශනා" මාලාව ද මුද්‍රණය කොට නොමිළයේ බෙදා දෙමින් සිදු කෙරෙන ශාසනික මෙහෙවරට අපහට තිල වශයෙන් හෝ දායකවීමට හැකිවීම ඉමහත් කුසලයකි.

මෙම උතුම් ධර්මදාන ක්‍රියාවලියට දායක වීමට කැමැති භවතුන්හට, තම පුණ්‍යාධාර "ශ්‍රී ලංකාවේ මහා භාරකාර තැන" නමින් චෙක්පත් හෝ මුදල් ඇණවුම්, (මුදල් ඇණවුම් නම් ටොරින්ටන් චතුරශ්‍රය උප තැපැල් කාර්යාලයෙන් මාරු කරගත හැකි පරිදි) මගින් ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාර අරමුදලට බැර කිරීම පිණිස පහත සඳහන් ලිපිනයට* එවිය හැකි බැව් කරුණාවෙන් දන්වා සිටිනු කැමැත්තෙමි.

පූ.මාපා
ශ්‍රී ලංකාවේ මහා භාරකාර තැන

මහා භාරකාර දෙපාර්තමේන්තුව
තැ.පෙ. 548
2, බුලර්ස් පටුමග
කොළඹ 07.

* ජී.ටී. බණ්ඩාර මහතා
ස්ථාපක
ධර්මග්‍රන්ථ මුද්‍රණ භාරය
රෝයල් ඉන්ස්ටිටියුට්,
191, හැව්ලොක් පාර, කොළඹ 5

# ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය

ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය මගින් පළ කරනු ලබන "නිවනේ නිවීම" පොත් පෙළෙහි සයවැනි වෙළුම දක්වා මුද්‍රණය කිරීමේ සම්බන්ධීකරණය මෑතක් වනතුරු කරන ලද්දේ ශ්‍රී ලංකාවේ මහාභාරකාර තනතුර දැරූ යූ. මාපා මහතා විසිනි. ඉතා ගැඹුරු ධර්ම කරුණු සහිත එම වටිනා දහම් පොත් පෙල එළි දැක්වීමට හැකිවූයේ ඒ මහතාගේ අප්‍රතිහත ධෛර්යය නිසාමය.

මෙම පොත් පෙලෙහි හත්වැනි වෙළුම මුද්‍රණයට සකස් වෙමින් තිබෙන අවස්ථාවේදී මාපා මහතාට ශ්‍රී ලංකා ජනරජයේ තානාපති ලෙස මියන්මාර් (බුරුමය) දේශයට යෑමට සිදුවිය. ථෙරවාදී බුදු දහම නිර්මලව පවතින එවැනි දේශයකට පත් වී, යෑම හුදෙක් ඒ මහතාගේ ශාසනික සේවයේ තවත් පියවරක් ලෙස දකිමු.

මාපා මහතා විසින් එසේ නික්ම යාමට පෙර, "නිවනේ නිවීම" සෙසු කාණ්ඩ මුද්‍රණය කිරීමේ කටයුතු කිසිදු බාධාවකින් තොරව කරගෙන යාම පිණිස, අති පූජ්‍ය කටුකුරුන්දේ ඤාණනන්ද ස්වාමීන් වහන්සේගේ මෙම දේශනාවල අගය දන්නා අප කීපදෙනෙක් මහාභාරකාර කාර්යාලය වෙත කැඳවා, ඒ පිළිබඳව වැඩ පිළිවෙලක් සකස් කරන ලදී. එම ක්‍රියා පිළිවෙල අනුව "නිවනේ නිවීම" දේශනා මාලාව සහ ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය මගින් පළකරනු ලබන "පහන් කණුව ධර්ම දේශනා" ග්‍රන්ථ එපරිද්දෙන්ම ඉදිරියේදී පළකෙරෙනු ඇත.

මෙම උතුම් ශාසනික සේවය ඉටු කිරීමට මාහට එම භාරයේ ස්ථාපක වශයෙන් මෙතැන් සිට වගකීම පැවරී තිබේ. එම මහඟු කාර්යය ඉෂ්ට කරගැනීම පිණිස ඒ පිළිබඳව උනන්දුවක් දක්වන සියලුම බැතිමත් දායක දායිකාවන්ගේ අනුග්‍රහය අපි බලාපොරොත්තු වෙමු.

මෙම ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරයට එවනු ලබන ආධාර ශ්‍රී ලංකාවේ මහා භාරකාරතැන නමින් පහත සඳහන් ලිපිනයට එවිය හැක.

තවද ආධාර දෙන පින්වතුන්ගේ පහසුව තකා දන් නුගේගොඩ සම්පත් බැංකු ශාඛාවෙහි "ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය" නමින් ගිණුම් අංක 000360001415 දරණ ජංගම ගිණුමක් විවෘත කර ඇති බව සලකන්න.

ජී.ටී. බණ්ඩාර,
ස්ථාපක, ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය
රෝයල් ඉන්ස්ටිටියුට්, 191, හැව්ලොක් පාර,
කොළඹ 5.

1999 ඔක්තෝබර් 25 වැනි දින.

# අමා ගඟ

මහවැලි ගඟ උතුරට හැරවීමෙන් පසු එතෙක් නිසරු මුඩු බිම් ලෙස පැවති පෙදෙස්වල සිදුවූයේ ඉමහත් වෙනසෙකි. පිපාසයට පැන්බිඳක් හොලබා සිටි ගොවීහු පෙදෙස පුරා නිහඬව ගලා යන සිසිල් දිය දහරින් පිනා ගියහ. මැලවුනු ගොයම සරුව තිල්වන්ව කරලින් බර විය. මල් පලින් ගැවසීගත් තුරු-ලිය බලා සැනසෙන පෙදෙස් වැසියෝ තුටු කඳුළු වගුළහ.

දහම් අමා ගඟ "උතුරට" හැරවීමේ වැඩ පිළිවෙළක් මෙයට නොවසරකට පෙර ඇරඹුණි. දහම් පත-පොත තබා "එදා-වේල" සඳහා වත් විය පැහැදම් කිරීමට වත්-කමක් නැත්තෝ, නිහඬව නොමිලයේ ගලායන අමිල දහම් අමා දිය දහරින් සදහම් පිපාසය සන්සිඳුවා ගත්හ. අරිටු මිසදිටු හැර, සැදැහැයෙන් සරුව, ගුණ නුවණින් බරව පිළිවෙත් මඟට නැමී ගත්හ. ලොවී - ලොවුතුරු මල් පල තෙලා ගනිමින් හද පුරා පිරී බැතියෙන් තන් අයුරින් සොම්නස පළකළහ.

"ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය" නමින් දියත් කළ මෙම ධර්මදාන වැඩපිළිවෙල සඳහා අපගෙන් වැයවූයේ පිරිසිදු ධර්මදාන සංකල්පය පමණි. අමාගඟ "උතුරට" හැරවූවෝ සසුන් ගුණ හඳුනන පරිත්‍යාගශීලී සැදැහැවත්හුමය. "නිවනේ නිවීම" පොත් පෙළ එළි දැක්වීමෙන් නොනැවතී "පහන් කණුව ධර්මදේශනා" පොත් පෙළෙහි "බර පැන" දැරීමටත්, දෙස් - විදෙස්වල දහම් පිපාසිතයින් උදෙසා අප අතින් ලියැවෙන අනිකුත් පොත - පත ඒ අයුරින්ම එළි දැක්වීමටත් ඔවුහු උත්සුක වූහ. "දෙන දේ පිරිසිදුවම දීමේ" අදහසින් අමිල වූ දහම ඊට නිසි ශෝභන මුද්‍රණයකින්ම ධර්මකාමීන් අතට පත් කිරීමට පියවර ගත්හ. මුද්‍රිත පිටපත් සංඛ්‍යාව අවසන්වනු හා සමගම "නැවත මුද්‍රණ" පළකිරීමෙන් දහම් අමා ගඟ වියළී යා නොදීමට දැඩි අදිටනකින් ඇප කැපවූහ.

"පොත් අලෙවිය" පිළිබඳව මෙකල බහුලව දක්නට ලැබෙන වාණිජ සංකල්පයට පිටුපා, තහංචිවලින් තොරව, තමන් අතට නොමිලයේම පත් කැරෙන "දහම් පඬුර" තුළින් ධර්මදාන සංකල්පයෙහි අගය වටහා ගත් බොහෝ පාඨක පින්වත්හු තමන් ලද රස අහරක්, නෑ-හිතවතුන් සමග බෙදා-හදා ගන්නාක් මෙන් නොමසුරුව අන් දහම් ලැදියනටද දී ධර්ම

දානයට සහභාගී වූහ. ඉනුදු නොනැවතී, ශක්ති පමණින් "ධර්ම ග්‍රන්ථ මුද්‍රණභාරයට" උරදීමටද ඉදිරිපත්වූහ, ඇතැමෙක් ලොකු කුඩා දහම් පොත් මුද්‍රණය කරවීමේ හා නැවත-නැවත මුද්‍රණය කරවීමේ බරපැන ඉසිලීමට පවා පසුබට නොවූහ.

සම්බුදු සසුන මේ ලක් පොළොවෙහි පවතින තාක් මේ දහම් අමාගඟ ලෝ සතුන් සිත් සනහමින් නොසිඳී ගලා යේවා යනු අපගේ පැතුමයි.

"සබ්බදානං ධම්මදානං ජිනාති"

මෙයට,

සසුන් ලැදි

**කටුකුරුන්දේ ඤාණනන්ද භික්ෂු**

පොත්ගුල්ගල ආරණ්‍ය සේනාසනය
'පහන් කණුව'
කන්දේගෙදර,
දේවාලේගම.
2000 ජුනි 05 (2544 පොසොන්)

# විද්‍යුත් උපදෙස් - පස්වන මුද්‍රණය

මෙම පස්වන මුද්‍රණය එළි දැක්වීමට ඉදිරිපත් වූ මාලබේ පරිත්‍යාගශීලී සැදැහැවත් පිරිසට ඉන් ජනිත ධර්ම දානමය කුශලය පරම ශාන්ත උතුම් අමාමහ නිවන අවබෝධකර ගැනීමට උපනිශ්‍රය සම්පත්තක්ම වේවායි පතමු.

සම්පාදක

(2548) 2005 අප්‍රේල් 11

# විදසුන් උපදෙස්

'නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස'

'යෙසං සම්බොධි අංගෙසු
සම්මා චිත්තං සුභාවිතං
ආදාන පටිනිස්සග්ගෙ
අනුපාදාය යෙ රතා
ඛීණාසවා ජුතිමන්තො
තෙ ලොකෙ පරිනිබ්බුතා'

මේ, ධම්මපදයේ පණ්ඩිත වග්ගයේ අගටම එන ගාථාවයි. මේ ගාථාවත්, මීට කලින් තිබෙන ගාථා දෙකත්, බුදුපියාණන් වහන්සේ සැවැත් නුවරදී ආගන්තුක භික්ෂූන් වහන්සේලා 500 නමකට උන්වහන්සේලාගේ මාර්ග ඵලාවබෝධයට උපකාරවන අදහසින් දේශනා කළ බව ධම්මපදට්ඨකථාවේ නිදානකථාවේ සඳහන් වෙනවා. අපි මේ ගාථාවෙ අඩංගු වැදගත් පද විවරණය කරන කොට, ඒ තුළින් අපට මතුකරගන්න පුළුවනි, භාවනා කර්මස්ථානවලට අදාල කරුණු රාශියක්. මේ ගාථාවෙ අර්ථය මුලින්ම අපි ප්‍රකාශ කළොත්.

'යෙසං සම්බොධි අංගෙසු සම්මා චිත්තං සුභාවිතං' - 'යම් කෙනෙකුන්ගේ සිත සම්බොජ්ඣඞ්ගයන්හි මැනවින් පුරුදු කරන ලද්දේද, වඩන ලද්දේද, එවගේම,-'ආදාන පටිනිස්සග්ගෙ අනුපාදාය යෙ රතා' යම් කෙනෙක්- 'අනුපාදාය ආදානපටිනිස්සග්ගෙ රතා' අල්ලා නොගෙන, ඇදගැනීම් සහ අත්හැරදැමීම් කියන දෙක පිළිබඳව ඇලුනාහුද' - 'අනුපාදාය' අල්ලා නොගෙන කියන එකයි. 'ඛීණාසවා ජුතිමන්තා- තෙ ලොකෙ පරිනිබ්බුතා' 'ජෝතිමත්වූ ඒ ක්ෂීණාශ්‍රවයන් වහන්සේලා ලොවෙහි පිරිනිවියාහුය. පිරිනිවීමට පත්වූවාහුය' කියන එකයි, අදහස වශයෙන් ගන්න තිබෙන්නෙ.

දැන්, - 'යෙසං සම්බොධි අංගෙසු-සම්මා චිත්තං සුභාවිතං' - මුලින්ම සඳහන් වෙනව ඒ භාවනා මනසිකාරයේ යම්කිසි දියුණු තත්ත්වයක්. යම් කෙනෙකුන්ගේ සිත සම්බොජ්ඣඞ්ග පිළිබඳව මැනවින් වැඩුණු තත්ත්වයකට, දියුණුවූ තත්ත්වයකට පැමිණ පවතීද කියන එකයි. මේ සම්බොජ්ඣඞ්ග සඳහන් වෙන්නේ බෝධිපාක්ෂික ධර්ම

සතර සතිපට්ඨාන, ඒවායින් ඊළඟට සතර සම්මප්පධාන, සතර ඉද්ධිපාද, පඤ්ච ඉන්ද්‍රිය, පඤ්ච බල-මේවා දියුණු කිරීමෙන්-මේවා ක්‍රමානුකූලව දියුණු කිරීමෙන්, කෙනෙකු තුළ මේ බොජ්ඣඞ්ග ධර්ම වැඩෙනව. බුදුපියාණන් වහන්සේගේ බෝධිපාක්ෂික ධර්ම දැක්වීමේදී පවා එක්තරා ක්‍රමානුකූලත්වයක් තිබෙනවා, ඒවා එකක් වඩල, කලකට පස්සෙ අනිත් එක වැඩීම වගේ දෙයක් නොවෙයි. නමුත් ඒවායේ යම්කිසි ක්‍රමානුකූලත්වයක් තිබෙනව. ඒ බොජ්ඣඞ්ග මේ තරම් මේ සුභාවිත තත්ත්වයට වැඩෙන අවස්ථාව වෙනකොට, අර අනිකුත් කියන දේවල් හුඟක් දුරට වැඩිල. මේ සුභාවිත තත්ත්වයට සිත වැඩෙන්නෙ බොජ්ඣඞ්ග තුළින්, මේ බොජ්ඣඞ්ග හත පිළිබඳව එක්තරා පෙලගැසීමක් ඇති තැනට පත්වීමෙන්. සති, ධම්ම විචය, විරිය, පීති, පස්සද්ධි, සමාධි, උපෙක්ඛා කියන බොජ්ඣඞ්ග ධර්ම හතෙන් මේවායින් මුලින්ම මෙතන දක්වල තියෙන්නෙ සතියයි. ඒ දක්වපු ආකාරයෙන් යම් කිසි ක්‍රමානුකූලත්වයක් තිබෙනව. සතිය පිරිසිදු වෙනකොට ධම්මවිචය වශයෙන් ඒ ඒ ධර්මයන් පිළිබඳව පෙනිල, ඒවායේ යථාස්වභාවය පිළිබඳ දැනීමක් ඇතිවෙනව. සිත අවදිමත්ව, කුසලාකුසල ධර්මයන් හඳුනා ගැනීමට - ඒවා පිළිබඳව කළ යුතුදේ කිරීමට, ප්‍රහානය භාවනාව ආදිය - ඒවාට අවශ්‍ය දැනීම ලැබෙනව, සතිය තුළින්. ඊළඟට ඒ ධම්මවිචයෙන් ලැබෙන දැනීම ආශ්‍රය කරගෙන සම්‍යක් වීර්‍ය - හොඳට වීර්‍ය - යොදන කොට, ඒ වීර්‍ය. යෙදීම ඊළඟ සම්බොජ්ඣඞ්ගය හැටියට ගන්න පුළුවන් - සති, ධම්මවිචය, විරිය. ඒ වීර්‍ය යෙදීමේදී අර ආරද්ධවිරියස්ස උප්පජ්ජති පීති නිරාමිසා' කියල කිව්ව ආකාරයට, ඒ වීර්‍ය යෙදීමේ ප්‍රතිඵලයක් වශයෙන්, ප්‍රීතියක්, මතු වෙනව - නිරාමිස ප්‍රීතියක්. ඒ නිරාමිස ප්‍රීතිය සන්සිඳුවා ගන්නා යෝගාවචරයා පස්සද්ධියක් - සැන්සුන් බවක් - භුක්ති විඳිනව. ඒ සැන්සුන්බව තුළින්ම - කායික සහ මානසික - ඒ සිත පිළිබඳ සුඛය ඇති වීමෙන් ඒ සුඛය සමාධිය ගෙන එනව. සමාධිය ලැබුනට පස්සේ, තවත් අමුතුවෙන් කළයුත්තක් නැති නිසා, අමුතුවෙන් ඒ සඳහා උත්සාහයක් අනවශ්‍ය නිසා, ඊළඟට කරන්නේ උපේක්ෂාව. උපේක්ෂාවේ තිබෙන්නෙ අර ලබාගත් සමාධිය ආරක්ෂා කරන ගුණය. එවගේම උපේක්ෂාව අර බොජ්ඣඞ්ග ධර්මවල උපරිම තත්ත්වය හැටියට සැලකුවාම, උපේක්ෂාව ප්‍රඥාවට ළඟයි.

'සම්බොජ්ඣඞ්ග' - සම්බෝධි අංග' කියන එකේ එතන අර්ථයත් - 'සම්බෝධි' කියල කියන්නේ අවබෝධය පිළිබඳ අදහසයි, බුද්ධත්වය

අංග 7ක් මේ. මේ පෙල ගැස්වීම එතකොට, සම්බෝධිය සඳහායි. අවබෝධය සඳහායි. අවබෝධයට ඉතාමත්ම නැඹුරුවන, කිට්ටුවන, ධර්මයක් තමයි උපේක්ෂාව. උපේක්ෂා තත්ත්වයට ගෙනාවට පස්සේ, යථාභූත වශයෙන් යමක අවබෝධයක් ලබාගන්න පුළුවන්. ඒකට උපකාරවන අංගයත් ඒ ළඟම තියෙනව-සමාධිය. එහෙක්, ඒ සමාධිය සකස්කරගැනීමටයි අර අනිකුත් ඒ සතියෙ ඉඳලම ආරම්භ කරන අනෙක් ධර්මපෙළ තියෙන්නේ. ඉතින් ඒ විධියට බැලුවහම ඒ බොජ්ඣඩ්ග ධර්ම හත අතරත් ක්‍රමානුකූලත්වයක් තිබෙනව.

ඊළඟට තවත් පැත්තකින් මේ බොජ්ඣඩ්ග ධර්ම වැඩීම ගැන හිතල බලකොට, මුල් අවධියේදී, මුල් අවස්ථාවෙදි මේ බොජ්ඣඩ්ග ධර්ම පෙළ ගස්වන්න අමාරු බවක් එනවා. අර ඉන්ද්‍රිය සමතාව ගැන ප්‍රකාශකරනව වගේ - ඉන්ද්‍රිය ධර්මයන් පිළිබඳව - දැන්, සද්ධා, විරිය, සති, සමාධි, පඤ්ඤා කියන මේ ඉන්ද්‍රිය ධර්මයන් ගැන යම්කිසි කෙනෙක් විග්‍රහ කරල බලනව නම්, එතනත් තිබෙන්නෙ එක්තරා සමතාවක්. ඒක අවශ්‍යවෙනව. ඒවා පුරුදු කිරීමේදී කෙනෙකුට ශ්‍රද්ධාවත් ප්‍රඥාවත් සමබර කිරීමට, ඊළඟට වීර්යයත් සමාධියත් සමබර කිරීමට. මේ දෙකට, සතිය මැදින් ඉඳගෙන ඒ අවස්ථාවේ ඒ කෘත්‍යය කරනව. දැන් මෙතන සතිය මුලින් සිටින්නෙ. මුලින් සිටගෙනත් අර තමාට අයිති වැඩක් කරනවා. ඒ කියන්නේ අනිකුත් ධර්ම පෙළගැස්වීමක් කරනවා. අර සතිය මැදින් ඉඳන් අනිත් ධර්ම හසුරුවන්න වගේ, මෙතන සතිය මූලට සිටගෙන - පෙරමුණේ සිටගෙන - ධම්මවිචය, විරිය, පීති කියල කියන උද්ධච්චයට නැඹුරුවන - උද්ධච්චය පැත්තට හැරිල ඉන්න තුන්දෙනා, කෙලින් කරනව මේ පැත්තට වැඩියි කියල. ඊළඟට අර අනිත් පැත්තට - කොසජ්ජයට නැත්නම් කුසීතබවට - නැඹුරුවෙන විදියෙ ධර්ම හැටියට ගන්න පුළුවන් පස්සද්ධි, සමාධි, උපෙක්ඛා - ඒවාත් පෙලගස්වනව. ඒවා පමණට වැඩිය අනිත් පැත්තට නැඹුරුවෙල ඉන්නව නම් ඒවත් කෙලින් කර ගන්නව. ඔන්න ඔය විදියට සතිය තමාට අයිති කෘත්‍යය මෙතනත් කරනවා, - බොජ්ඣඩ්ග අතරත් - මුලින් සිටගෙන. ඒ විදියට පෙළගැහුණු අවස්ථාවෙ තමයි, ඔන්න බොජ්ඣඩ්ග සුභාවිත තත්ත්වයට - බොජ්ඣඩ්ග තුළින් සිත සුභාවිත තත්ත්වයට - පත්වුනා කියල කියන්න පුළුවන්. එතකොට දැන් මෙතන සතිය දිහා බලන කොට කෙළින්ම - එක එල්ලෙම - ඊළඟට පේන්නෙ උපෙක්ඛාව. අනිත් ධර්ම වැඩිය පේන්නෙ නැහැ. ඒවයෙ කෘත්‍යය කරල ඉවරයි. එතකොට, සතිය යොදන තැන දැන් උපෙක්ඛාවත් තියෙනව. සතිය යොදන කොට එතනම ඒකාග්‍රතාව -

සමාධියට අදාල එකාග්‍රතාව - උපේක්‍ෂාව. උපේක්‍ෂා ඒකාග්‍රතා - මේ දෙකම ඇති ඉතින්, ඊළඟට - ඒ දෙක යොමුකරන කොට අර ධර්‍ම සවභාවය අවබෝධ කරගන්න පුළුවන්. ඒ යොමුකිරීම තමයි භාවනා මනසිකාරය - මෙනෙහි කිරීම.

මේ විධියට මේ මෙනෙහි කිරීම. 'මෙනෙහි කිරීම' කියන වචනය පවා විදර්‍ශනාවේදි එක වචනයම යෙදුවට මොකද මේ වචනය භාවනාවේ ගැඹුරට යන්න යන්න නැවත විග්‍රහ කළයුතු තත්ත්වයක් තිබෙනව. ආරම්භයෙදි මෙනෙහි කිරීම ඉතාම ඖළාරික වශයෙන් කරන්නට සිද්ධවෙනව. තමා සිටින තැනින්මයි ගමන පටන් ගන්නෙ. ඒක නිසා මෙනෙහි කිරීමේදි දැන් - සාමාන්‍යයෙන් විදර්‍ශනා භාවනාව පිළිබඳ උපදෙස් දීමේදී එහෙම - සාමාන්‍ය ලෝකයේ තියන මෙනෙහි කිරීමට වඩා තරමක් ගැඹුරු අන්දමින්, දකින දේ - අර 'න නිමිත්තග්ගාහී හොති නානුබ්‍යඤ්ජනග්ගාහී' කියන ආකාරයට නිමිති අනුව්‍යඤ්ජන නොගෙන - ඒ වැඩි විස්තර සොයන්නෙ නැතිව - 'රූපයක් රූපයක්' ඒවගේම අසන ශබ්දය, පිළිබඳව, 'සද්දයක්, සද්දයක්' කියල එතනින් නවත්වනව. ඒකයි සාමාන්‍යයෙන් මෙනෙහි කිරීම පිළිබඳව මූලිකව දෙන උපදේශය යෝගාවචරයින්ට. නමුත් මේ මෙනෙහි කිරීම තුළත් තිබෙනව ඖළාරික අංග. ඉදිරියට යනකොටයි ඒවා වැටහෙන්නේ. මොකද ඒකට හේතුව? මේ මෙනෙහි කිරීමේදී අර 'රූපයක්, රූපයක්' 'සද්දයක්, සද්දයක්' කියල ඒ විදියට හිතට දීමෙන් කෙරෙන්නෙ මොකක්ද? ඒකට අරමුණු තත්ත්වයක් ලැබෙනව. ඇත්ත වශයෙන්ම, මෙනෙහි කිරීමට අරමුණක් අවශ්‍යයි, නමුත් විදර්‍ශනාවෙ ගැඹුරට යනකොට තේරෙනවා කෙනෙකුට - 'මේ අරමුණ කියන්නෙ එල්බ ගන්න දෙයක්, ආරම්මණ'- එල්බගන්නව. මොන විදියෙ එල්බ ගැනීමක් හෝ තිබෙනව නම් එතන අවිද්‍යාව තිබෙනව. අවිද්‍යාව දිගට ගෙනයාමට උපකාර වන දෙයක් ඒක. නමුත්, 'අනුපුබ්බ සික්ඛා, අනුපුබ්බ කිරියා, අනුපුබ්බ පටිපදා' කියන න්‍යායයට අනුව ක්‍රමානුකූලවයි මේ මෙනෙහි කිරීම පිළිබඳව ඒ කියන තත්ත්වයට කෙනෙක් එන්නෙ.

මුලදී අර සාමාන්‍ය ලෝකයා මෙනෙහි කිරීම කරන ආකාරය අත්හැරල, 'ස්ත්‍රියක්, 'පුරුෂයෙක්' එහෙම නැත්නම් වෙන නොයෙකුත් ඒ අංගෝපාංග අනුව සිතට ඒව දීල කෙලෙස් වඩවන්නෙ නැතුව, හැකිතාක් දුරට, කෙලෙස් නොඑන ආකාරයට අර 'රූපයක්', 'සද්දයක්' ආදි වශයෙන් මෙනෙහි කරනවා. නමුත් ඈතට යන්න යන්න කෙනෙක්

කල්පනාවට ගන්නව 'මෙන්න මෙතන තිබෙනව මේ ඉන්ද්‍රිය භද්‍රාතය පිළිබඳව - ඒ වගේම භාෂාව්‍යවහාරය පිළිබඳව - ඇති යම්කිසි මිථ්‍යාවක්, තමා දැඩිව ගත්තු මිථ්‍යාවක් දීඝ සංසාරයේ. ඒකට හේතුවන අර දෙකොනක් සහ මැදක් කියන ඒ අදහස මේ මෙනෙහි කිරීම තුළ ඉතිරි වෙනව, 'රූපයක්' 'සද්දයක්' කියලා ගැනීමේදී. ඒ කියන්නෙ අර දෙකොනක් හැටියට සිටිනව. ඇසක් තිබෙනව, ඇසයි - රූපයයි, කනයි - සද්දයයි. ඒ විදියට දෙකොනක් තිබෙනවා. දෙකොනක් ඇති තැන මැදකුත් එනව, ඉතින් මෙන්න මේ විදියට - කොටින්ම කියනව නම් මෙතන ග්‍රාහ්‍ය - ග්‍රාහක භේදයකට ඉඩ තිබෙනව. යෝගාවචරය ඉන්නව, කවරෙක් හෝ වේවා, යෝගාවචරයගෙ හිතට යම්කිසි අරමුණක් එනව. ඒ අරමුණ අරමුණක් හැටියට මෙනෙහි කරගන්නව, වැඩිදුර නොසෙවිවත්. මෙන්න මෙතන තිබෙන මේ බන්ධනයත් කඩන්න සිද්ද වෙනව ඉදිරියට යාමේදී. මොකද? දැන් සඤ්ඤාව-දැන් මේව සඤ්ඤා-රූප සඤ්ඤා, සද්දසඤ්ඤා කියල කියන්නෙ මොකද? බුදුපියාණන් වහන්සෙ සංඥාඋපාදානස්කන්ධය දක්වල තියෙන්නෙ මිරිඟුවක් හැටියට. එතකොට සඤ්ඤාව මිරිඟුවක් නම්, රූප සඤ්ඤාව කියල කියන්නෙ මොකක්ද? ඒ පෙනෙන රූපයත් මිරිඟුවක් වෙන්ට ඕන. 'සද්දසඤ්ඤා - ඒකත් මිරිඟුවක් වගේ. ඇහැට පෙනෙන දෙයක් නුනත් මිරිඟු ස්වභාවය ඇති දෙයක්. මිරිඟු ස්වභාවය ඇති දෙය ඇත්ත වශයෙන්ම තිබෙනව කියල ගැනීම මෝහයට, මුළාවට හේතුවන දෙයක්. ඒක නිසා මේ මිරිඟු ස්වභාවය ගැඹුරින් වටහාගැනීමට - ප්‍රත්‍යක්ෂ කර ගැනීමට - උපකාර වන සියුම් මනසිකාර ක්‍රමයක් අවශ්‍යවෙනව. අන්න ඒක නිසා ඊළඟට යෝගාවචරය අර 'රූපයක්' 'සද්දයක්' කියල මෙනෙහි කිරීම වෙනුවට 'දැකීමක්, 'දැකීමක්' 'ඇසීමක් ඇසීමක්' 'දැනීමක් දැනීමක්' 'සිතීමක් සිතීමක්' ආදී වශයෙන් මේ සිදුවන දේ ඉතාමත්ම කෙටියෙන් මෙනෙහි කරල - හිත ඈතට යන්න දෙන්නෙ නැහැ. කොටින්ම කියනව නම් මෙතෙන්දි මේ උත්සාහ ගන්නේ අර සඤ්ඤාවටවත් හසු නොවී මෙනෙහි කිරීමේදී හැකිතාක් දුරට දැනීම් මාත්‍රයෙන් නවතින්න-තර්කයේ දැලට අහුවන නිසා - අර දෙකොනට සහ මැදට. ඒකට ද්වයතාව කියල කියන්නත් පුළුවන්. මේ හැම එකකම තිබෙනව ග්‍රාහ්‍ය - ග්‍රාහක භේදයක්. අල්ල ගන්න කෙනෙක් ඉන්නව, අල්ල ගන්න දෙයක් තියෙනව - ඔය විදියට - දුටු කෙනෙක් ඉන්නව, දුටු දෙයක් තියෙනව කියල. එහෙම ගැනීම නිසා අර මෝහයට ඉඩ ලැබෙනව. එතකොට, මේ සඤ්ඤාව මිරිඟුවක්. මේ මිරිඟු ස්වභාවය තේරුම් ගැනීම සඳහා, 'මෙතන තියෙන්නෙ දැකීමක්, දැකීමක්, කොයි ආකාරයකින් හමුත් දැකීමක්, ඇසීමක්'කියල එපමණක්

හිතට දෙනව. දැකීම් මාත්‍රයෙන් නවතිනව, ඇසීම් මාත්‍රයෙන් නවතිනව, දැනීම් මාත්‍රයෙන් නවතිනව, සිතීම් මාත්‍රයෙන් නවතිනව. ඒකට - ඒ අරමුණට - වෙනෙකක් තබා ඒකට නමක්වත් දෙන්නෙ නෑ. ඔන්න ඔය විදියට ඒ මනසිකාර ක්‍රමය පැවැත්වීමේ අදහස අර ඉදිරියට යම්කිසි අවස්ථාවක ඒ යෝගාවචරයට අසම්මානය පවා ඉවත් කරන්න සිදුවෙනව. අසම්මානය -භවය කියන එක ඇත්ත වශයෙන්ම මැනීමක්. මේ භවය මනින්න කූඤ්ඤ දෙකක් ගහගන්නව වගේ තමයි අර දෙකොනත් - ග්‍රාහ්‍යග්‍රාහක - අල්ල ගන්න කෙනෙක් ඉන්නව, අල්ල ගන්න දෙයක් තියනව. අන්න ඒ විදියට කූඤ්ඤ ගහගෙනයි, ඒ දෙකක් අතරයි භවය තිබෙන්නෙ - පැවැත්ම තිබෙන්නෙ. මේ කූඤ්ඤ උගුල්ලල දාන්න සිද්ධවෙනව. දෙකක් ඇති තැනක මැදකුත් එනව. ඔන්න ඔය විදියෙ තත්ත්වයක් තියෙනව. ඒකෙන් මිදීමටයි එනකොට උත්සාහය තිබෙන්නෙ. ඔන්න ඔය විදියට-'යෙසං සම්බොධි අංගෙසු - සම්මා චිත්තං සුභාවිතං.'

ඊළඟට කියවෙනවා හොඳ වටිනා පද කීපයක්. 'ආදාන පටිනිස්සග්ගෙ - අනුපාදාය යෙ රතා. 'ආදාන' කියල කියන්නෙ ඇදගැනීම. 'පටිනිස්සග්ග' කියල කියන්නෙ අතහැරීම. 'ඇදගැනීම, - අතහැරීම' කියන අපි දෙන්න පුළුවන්.. 'ආදාන පටිනිස්සග්ග,' ඊළඟට, 'අනුපාදාය' - 'අල්වා නොගෙන' 'යෙ අනුපාදාය ආදාන පටිනිස්සග්ගෙ රතා' කියලයි ගන්න වෙන්නේ. යම් කෙනෙක් අල්වා නොගෙන ඇදගෙන විසි කරනවා, ඇදගෙන අතහරිනව. මෙතන කියන අදහස අර අපි කලින් කියාපු දෙකොන සහ මැද කියන ඒ අදහසට ළං කරගන්න පුළුවන්. දෙකොනක් පෙන්නුම් කරනව ආදාන පටිනිස්සග්ග කියන වචන දෙකෙන්. ඇදගැනීමක් තිබෙනව, අතහැරීමක් තිබෙනව. ඒ දෙකට මැදින් තිබෙනව 'අල්වා ගැනීම'. මේ අල්වා ගැනීම' කියන වචනයට නිතර යෙදෙන හුරුපුරුදු වචනය තමයි 'උපාදානය'. 'උපාදානය' කියල කියන්නෙ අල්වාගැනීම, 'උපාදාය' කියන්නෙ 'අල්වාගෙන'-පූර්වක්‍රියාව. 'අනුපාදාය' කියල කියන්නේ 'අල්වා නොගෙන'. එතකොට දැන් මෙතන තියෙනව, ආදාන'-'ඇදගැනීම', 'උපාදාන' - අල්වාගැනීම' 'පටිනිස්සග්ග'-අතහැරීම'. මෙතන මැදට එන්නෙ අර උපාදානයයි. මෙතන මැද හැටියට ගන්න තියෙන්නෙ උපාදානය' අල්වා ගැනීම'.

අර අනුපාදාය කියන එක තමයි මෙතන වැදගත්ම වචනය. අල්වා නොගැනීමෙන් තමයි 'ආදාන' 'පටිනිස්සග්ග' කියන ඒ දෙකට

පමණක් ඇල්ම ඇති කරගන්න පුළුවන් වන්නෙ. 'ආදානපටිනිස්සග්ගෙ අනුපාදාය යෙ රතා'. ඒ කියන්නෙ, උපාදානය නැති තැන ඇත්තෙ ආදානය සහ පටිනිස්සග්ගය කියන දෙක විතරයි. මේක නිදසුනක් මගින් තේරුම් ගන්න ගියොත් වඩා පහසු වෙනව.

අපි උපමාවක් ගනිමු, දැන් සාමාන්‍යයෙන් අපි ළිඳක් ළඟට යන්නෙ වතුර ටිකක් අරගෙන බොන්න. එහෙම නැත්නම් මුහුණ කට හෝදගන්න. එහෙම නැත්නම් තවත් යම්කිසි භාජනයකට දමල ඒක ගේන්න. එතකොට, ළිඳෙන් වතුර අදිනව, ඇදගන්නව. ඊළඟට ඒ වතුර ඇදගත්තු භාජනය ටික වෙලාවක් තබාගෙන එක්කො ඒකෙන් වතුර බොනව එහෙම නැත්නම් ඒකේ තියෙන වතුර තව භාජනයකට වත්කරගන්නව, මූණකට හෝදනව නම් හෝදනවා, එහෙම හෝදලා ඉතිරිවෙන යමක් තියෙනව නම් විසිකරනව. ඒකයි සාමාන්‍යයෙන් මේ ළිඳෙන් ගන්න වතුරෙ ප්‍රයෝජනය. ප්‍රයෝජනයක් සඳහා ළිඳෙන් වතුර අදිනකොට ඔන්න ඔය විදියටයි කෙරෙන්නෙ. 'ආදාන-උපාදාන' - අර ඇදගත්තු වතුර පණිට්ටුව අල්ලාගන්නව. ඇදල, ඊළඟට අල්ල ගන්නව. ඊගාවට, පටිනිස්සග්ග'-මූණ කට හෝදගෙන ඉවරවෙල විසිකරනවා අර කුණු කන්දල් එක්ක. ඒ වතුර ටික අහක දානව. ඔන්න ඔය විදියට ඒ අර ප්‍රයෝජනයක් සඳහා අර්ථයක් සඳහා, ළිඳෙන් වතුර ගන්න එක්කෙනා කරන දේ.

අපි හිතමු, අපට උවමනා වුනා මේ ළිඳ ඉහින්න. ළිඳ ඉහින්න ඕන: ළිඳ ඉහින්න ගියාම අපි මොකද කරන්නේ? පණිට්ටුව ළිඳට දාල වතුර අදිනව - දමනවා. අදිනව දමනව. අල්ල ගැනීමක් නෑ. ඒක බොහොම වේගයෙන් කෙරෙන්නෙ. ඒ පණිට්ටුව අරගෙන ඒක අරෙහෙ මෙහෙ කරන්න, ඒකෙන් ප්‍රයෝජනයක් ගැනීමක් බලාපොරොත්තු වෙන්නෙ නෑ. ඒ වෙනුවට මොකද දැන් බලාපොරොත්තුව? ළිඳ හිස් කිරීම. ළිඳේ හිස් බව දැකීම, ශූන්‍යත්වය දැකීම. ළිඳ හිස්වෙනව දැකීමයි දැන් බලාපොරොත්තුව, වතුරවලින් යම්කිසි ප්‍රයෝජනයක් ගැනීම නොවෙයි. ඒක 'අල්ල ගන්න' එක නොවෙයි. දැන් තියෙන්නේ ඉහින්නයි.

'සිඤ්ච භික්ඛු ඉමං නාවං
සිත්තා තෙ ලහුමෙස්සති'

'මහණ මේ නැව ඉහින්න' කියල ධම්මපද ගාථාවක[1] ප්‍රකාශ වෙනව. මේක හිස් කරහම සැහැල්ලු වෙනව කියලා. අන්න ඒ වගේ මෙතනත් ළිඳ ඉහින එකයි, දැන් එතකොට යෝගාවචරයට කරන්න සිද්දවෙලා තියෙන්නෙ. ඒ ඉහීම වගේ තමයි ඔන්න අර ඇදගැනීමයි අතහැර දැමීමයි.

දැන් එතකොට මේ ළිඳ ඉහීම පිළිබඳ උපමාව අතහැරලා අපි මේකට තව ටික්ක ඈතට යන්න පුළුවන් භාවනා කර්මස්ථානයටම අදාළ නිදර්ශනයක් ගනිමු. ආනාපාන සතිය. 'ආන' - 'අපාන' - හුස්ම ගැනීම - හෙළීම. ඒක කවදත් කෙරෙන දෙයක්. හුස්ම ගැනීම - හෙළීම. මේ දෙක අතර තිබෙනව නොපෙනෙන දෙයක්. නමුත් ඒක තමයි සංසාරය දිගට ගෙනියන්නෙ. හුස්ම ගන්නෙ මොකටද? හුස්ම ගන්නෙ, මේ පැවැත්ම ගෙනයන්න. තෘෂ්ණාව, අවිද්‍යාව දිගට ගෙනයන්න. සංසාරයෙ දිගට යන්න. මේ ශරීර කූඩුව රැක ගන්න. 'උපාදානය' - හුස්මක් අල්ලගන්නව. කොටින්ම කියනව නම් 'හුස්ම අල්ලගන්නව'. එතන යටින් තණ්හාව තිබෙනව. අවිද්‍යාව තිබෙනව. 'මමෙක්' ඉන්නව. 'ප්‍රාණය'. ප්‍රාණීන්ට අවශ්‍ය මූලිකම දේ තමයි හුස්ම. මේක මේ හුස්ම ගැනීම පමණක් නොවෙයි - ඇද ගැනීම පමණක් නොවෙයි, මේක අල්ලගන්නව. උත්සාහ කරන්නෙ පුළුවන් නම් හුස්ම අල්ලගෙන ඒකෙන්ම අනික් වැඩ කටයුතු කරන්න. දැන් ඔය බරක් ඔසවන පුද්ගලය, බරක් ඔසවන්න සූදානම් වෙන කොට දිග හුස්මක් ගන්නෙ මොකටද? අර ශරීරෙට ශක්තිය ලබා දෙනව, අර හුස්ම අල්ල ගැනීම. හුස්ම අල්ලගෙනයි ඊළඟට ඒ තමන්ට අයිති වැඩේ කරන්නේ. ඒ හුස්ම අල්ලගැනීම තුළයි මමත්වය - 'මගේ ශක්තිය', මට කරන්න පුළුවන්' - ඔක්කොම තියෙන්නෙ. ඒ විදියට එතකොට හුස්ම ගන්නව, හුස්ම අල්ලගන්නව, අතහරින්න සිද්ද වෙනව. අතහරින්න සිද්දවෙනව ධර්මතාවෙන්ම. ඒකයි ප්‍රශ්වාසය කියන්නෙ. ආශ්වාසයෙන් කෙරෙන්නේ, දකින එක්තරා ප්‍රයෝජනයකින්, බොහොම ඕනකමකින් හුස්ම ටිකක් ගැනීම, ජීවිතේ ආරක්ෂා කර ගන්න. පුළුවන් නම් ඒක දිගටම රඳවගන්න, ඒක ඒ තරමට හොඳයි. නමුත් බැහැ. බැරි නිසා ටික වෙලාවකින් ඒකට යන්න ඉඩ අරිනව, ඒක අතහරින්න සිද්දවෙනව. ඒක ධර්මතාවයි. මෙතනත් තියෙන්නෙ එතකොට 'ආදාන - පටිනිස්සග්ග' වගේ, බැලුවහම. මෙන්න මේ

1. භික්ඛු වග්ග

කියන දර්ශනය ආනාපාන සතිය තුළින් මතුවන අවස්ථාවකුත් තිබෙනව. ආනාපාන සති භාවනාව පිළිබඳව බුදුපියාණන් වහන්සේ දැක්වූ පියවර දහසය[1] අතරින්, අගටම එන ධම්මානුපස්සනාවට අදාළ පියවර හතර විග්‍රහ කරල බැලුවොත් මේ දර්ශනය අපට මතුකරගන්න පුළුවන්.

අනිච්චානුපස්සී අස්සසිස්සාමීති සික්ඛති
අනිච්චානුපස්සී පස්සසිස්සාමීති සික්ඛති
විරාගානුපස්සී අස්සසිස්සාමීති සික්ඛති
විරාගානුපස්සී පස්සසිස්සාමීති සික්ඛති
නිරෝධානුපස්සී අස්සසිස්සාමීති සික්ඛති
නිරෝධානුපස්සී පස්සසිස්සාමීති සික්ඛති
පටිනිස්සග්ගානුපස්සී අස්සසිස්සාමීති සික්ඛති
පටිනිස්සග්ගානුපස්සී පස්සසිස්සාමීති සික්ඛති

කියල ඔය විදියට ඒ හික්මීමෙදි කෙරෙන්නෙ මොකක්ද? මේ අනිත්‍යතාව දකිනව. මෙන්න මෙතනත් තියෙනව ක්‍රමානුකූලත්වයක්. අනිත්‍යතාව දකිමින්ම ආශ්වාස කරනව, අනිත්‍යතාව දකිමින්ම ප්‍රශ්වාස කරනව, ආශ්වාසයන්ගෙන් අනිත්‍යතාව දැකගන්නව. යෝගාවචරය දන්නව දැන් මේ ආශ්වාස ප්‍රශ්වාසය තුළ තියෙන අනිත්‍ය ස්වභාවය. අනිත්‍යතාව දැකීමේ නිදර්ශනයක් හැටියටයි මේ ආශ්වාස කරන්නෙ, මේක ශික්ෂණයක්. නිකම්ම හුස්මක් - ජීවත්වීමට, සංසාරයෙ දිගට යෑමට, ගන්න හුස්මක් - නෙවෙයි යෝගාවචරය ගන්නෙ. යම්කිසි පාඩමක් ඉගෙන ගන්න විදර්ශනාව දියුණු කරගන්නයි. දැන් ඒ සඳහා උපකාර කරගන්නව කර්මස්ථානයක් හැටියට ඒ ධර්මතාව වටහා ගැනීමට. එතකොට ආශ්වාසයෙදිත් අනිත්‍යතාව දකිනව, ප්‍රශ්වාසයෙදිත් අනිත්‍යතාව දකිනව. ඒ අනිත්‍යතා දර්ශනය - ඒ අනුපස්සනාව - දියුණු කරගැනීමයි මේ ශික්ෂණයෙන් බලාපොරොත්තු වෙන්නෙ.

එතකොට, මේ අනිත්‍යතාව කියන්නෙ මොකක්ද, මේක වචන දෙකකින් කිව්වොත් මේ අනිත්‍යතාවෙ පෙති දෙක 'උදය-වය'. මේක ඇතුළෙ තියෙන්නෙ ඇතිවීම සහ නැතිවීම කියන එකයි. ඒ ඇතිවීම සහ නැතිවීම පිළිබඳ අවබෝධය ගැඹුරුවන තරමට අනිත්‍යතාව ප්‍රකට වෙනව. ඒකයි, අර විදියට අර සම්බොජ්ඣඞ්ගාදිය දියුණු කළ,

1. අනාපානසති සූ.මජ්ඣිම නිකාය

අනිකුත් සතිපට්ඨානයට අදාළ දේ දියුණු කළ, යෝගාවචරයා තුළ, ආනාපාන සතියම පවා ඔය තරම් දුරට දියුණු කළ තැනැත්තා තුළ, ධම්මානුපස්සනා අවස්ථාවේදි ඔය කියාපු අනිත්‍යතා දර්ශනය යම්කිසි ප්‍රමාණයකින් තිබෙනව. ඇති වීමක් සහ නැතිවීමක් තිබෙනවයි කියන එක. එතකොට මේ ඇතිවීම සහ නැතිවීම දකින යෝගාවචරයාට ඒ අනුපස්සනාව ගැඹුරට යන්න යන්න, ඉපදීම වැටහෙන්න වැටහෙන්න, ශීඝ්‍රව වැටහෙන්න වැටහෙන්න, සියලු සංස්කාරවල සමුදය පක්ෂයට - උදය පක්ෂයට - වඩා වය පක්ෂය වැඩියෙන් දැනෙන්න පටන් ගන්නව.

ශීඝ්‍රයෙන් කරකැවෙන යම්කිසි රෝදයක සලකුණක් දිහා බලන්න උත්සාහ කරන කොට, ඒ රෝදය වේගයෙන් කරකැවෙන කොට, අර ඒ සලකුණු කළ තැන පහතට වැටෙන එකයි වැඩිය පැහැදිලිව පෙනෙන්නෙ. අන්න ඒ වගේ, ආශ්වාසයට වඩා මේ ප්‍රශ්වාසය තුළින්ම බිඳිල යන ආකාරය - මේක බිඳ වැටෙන ආකාරය, වැඩියෙන් ප්‍රකට වෙනව - වය පක්ෂය. ඒ විදියට මේ කියන ඒ ආශ්වාස ප්‍රශ්වාසයේ වය පක්ෂය නැත්නම් වැටෙන පක්ෂය වැඩිය ප්‍රකට වෙන කොට, ඒ තුළින් කෙනෙකු තුළ ඇතිවෙනව විරාගයක් - නොඇල්මක්. ඇල්මක්, තණ්හාවක් ඇතිවයි මේ ආශ්වාසයක් ගන්නෙ. සමුදය පක්ෂයටයි නැඹුරුවුනෙ. නැවත නැවතත් ආශ්වාස ප්‍රශ්වාස කිරීම - මෙන්න මේ සංස්කාර. මේ සංස්කාරයන්ගෙන් අළුත් කරනව. මේව අළුත්කිරීමට උපකාර වන දේ තමයි තණ්හාව - 'තණ්හා පොනොභවිකා'. අළුත් කිරීම් කරන්නෙ මේක පිළිබඳ රාගයෙන්, තණ්හාවෙන්. දැන් මෙතන අර බිඳවැටීම නිතර නිතර දකින කොට මේ පිළිබඳව යම්කිසි කලකිරීමක් ඇතිවෙනව - මේක කරදරයක් හැටියට. ඒ විරාගය නිසා අර සමුදය, - එහෙම නැත්නම් මේක නැවත නැවත මතුකර ගැනීමට ඇති තෘෂ්ණාව තුනීවෙනව. ඒ තුනීවෙන්න වෙන්න, නිරෝධය ප්‍රකට වෙනව. අනිත්‍යතාව දුටුව. අනිත්‍යතාව වඩ වඩා සියුම්ව පෙනෙන කොට, විරාගය ඇතිවෙනව - නොඇල්ම ඇතිවෙනව. නොඇල්ම ඇතිවීම නිසා, අර තණ්හාවෙන් වැසිල තිබුණ නිරෝධය ප්‍රකට වෙන්න පටන් ගන්නව. තණ්හාවෙන් වැසිල තිබුණයි කියල කියන්නෙ මොකද? නිරෝධය වෙනවත් එක්කම ඉතාම ශීඝ්‍රයෙන් නැවත සමුදයක් ඇතිකර ගැනීමට තණ්හාව රුකුල් දෙනව. මේ තණ්හාව 'පොනොභවිකා නන්දිරාගසහගතා තත්‍රතත්‍රාභිනන්දිනී'[1] ඒ

---

1. ධම්මචක්කපපවත්තන සූ. මහා වග්ග, සංයුත්තනිකාය

ඇල්ම නිසාම, ඒ ඒ තැන සතුටුවන ස්වභාවය නිසාම 'මේක බිඳුනට කමක් නෑ වෙන එකක් අල්ලන්න වෙන එකක් අල්ලන්න' කියනව. 'වෙන හුස්මක් අල්ලන්න, ඒක නැතිවුනාට කමක් නෑ' කියලා ඔය විදියට, උසි ගන්වන ස්වභාවයක් තෘෂ්ණාවෙ තිබෙනව. මේ විරාගය නිසා අර උසිගැන්වීම අඩුවෙනකොට, ඔන්න වැඩිය පෙනෙන්නේ, වඩාත් ප්‍රකට වෙන්නෙ, නිරෝධය-නැතිවීම, බිඳීම. හිතත් පෙරලෙන විදිය. ඒ විදියට නිරෝධානුපස්සනාව. එතනත් ක්‍රමානුකූලත්වයක් තියෙනව.

ඒ විදියට නිරෝධය දකින පුද්ගලයා තුළ, මේ කරන මේ ප්‍රයත්න ව්‍යර්ථ වනහැටි, මේව නිෂ්ඵල වනහැටි, මේ නිෂ්ඵල ස්වභාවය වැටහෙන්නට පටන්ගන්නව, තේරෙනව. මේව නිෂ්ඵල ප්‍රයත්න රාශියක් නිෂ්ඵල තැතක්. නිරර්ථක තැතක්. නිතරම ව්‍යර්ථවන තැත් සමූහයක්, උත්සාහ ප්‍රයත්න සමූහයක් හැටියට මේ ආශ්වාස ප්‍රශ්වාසය පවා වැටහෙනව. එහෙම වැටහෙන කොට, දැන් එතකොට, මේ ආශ්වාසය ගන්නෙත් 'පටිනිස්සග්ගානුපස්සී'-අතහැර දැමීමට. මේකෙන් වැඩක් ගැනීමට නෙවෙයි. මේකෙ හිස්බව තේරුම් ගැනීමට අනාත්ම බව තේරුම් ගැනීමට - ශූන්‍යත්වය තේරුම් ගැනීමට. පටිනිස්සග්ගානුපස්සී'. එතන ආනාපාන සතියෙ උග්‍රම විදර්ශනාව පෙන්නුම් කෙරෙනව,

'පටිනිස්සග්ගානුපස්සී අස්සසිස්සාමි' අතහැර දැමීම දිහා බලා ගෙනමයි ආශ්වාස කරන්නෙත්. අල්ලා ගැනීමට නොවෙයි ප්‍රයෝජනයක් ගැනීමට නොවෙයි. ඒ වගේම, ප්‍රශ්වාස කරන්නෙත් 'පටිනිස්සග්ගානුපස්සී. ඒක අමුතුවෙන් කියන්න ඕන නෑ. අන්න දැන් අපි ආයිත් අර ළිඳේ උපමාව කිට්ටු කර ගනිමු. දැන් කරන්නෙ මේකයි. අර වතුර අදිනව වෙනුවට මේ හුස්ම අදිනව. හුස්ම අදින්නේ හෙළන්න. අදින්නේ හෙළන්න. අදින්නේ හෙළන්න. අල්ලගන්න නොවෙයි. හුස්ම අල්ලගෙන යමක් කරන්න නෙවෙයි. හුස්ම ගන්නෙ - හුස්ම අදින්නෙ - හෙළන්න. ඒ කියන්නෙ, යම්කිසි ධර්මතාවක් විතරයි දැන් පේන්නෙ. ඒක අල්ලගෙන වැඩක් කරන 'මමෙක්' වත්, ඒක අල්ලගෙන ජීවත්වෙන 'මමෙක්' වත් නෙවෙයි දැන්. ඒ වෙනුවට මේ ශරීර කූඩුවෙ තියෙන යම්කිසි ධර්මතාවක්. හරියට ඔය බෝක්කුවක එක පැත්තකින් වතුර ඇතුල්වෙනව, අනිත් පැත්තෙන් පිටවෙනව. ඔය විදියෙ දෙයක්. අර බෝක්කුව ගැන ඇල්මක් නෑ. අතහැර දැමීම දකිමින්ම ආශ්වාස කරනව අතහැරදැමීම දකිමින්ම- ඒ අනුව බලමින්ම-ප්‍රශ්වාස කරනව. මේ තුළින්. එතකොට භංග, භය, ආදීනව - ඔය කියන විදර්ශනාඥාන එහෙම හුඟක් මෝරල,

මේවයෙ කියන මේ තත්ත්වය දැකල, අතහැර දැමීමයි - අතහැරීමෙන්ම මේ විමුක්තිය බලාපොරොත්තුවන තත්ත්වයයි දැන් තිබෙන්නෙ. ආශ්වාස ප්‍රශ්වාසය තුළින්, හුස්ම ඇදගැනීම හෙළීම කියන ඒ ධර්මතාවේ ඇති ඒ සත්‍යය දැකීමෙන් අර තමා තුළ තිබෙන ත්‍රිලක්ෂණය - අනිත්‍ය දුඃඛ, අනාත්ම ලක්ෂණ - ඒවා ගැඹුරින් වටහා ගැනීමට යෝගාවචරය දැන් බලාපොරොත්තු වෙනව. ඒවගේම දැන් අර උපාදාන කියල කිව්ව අල්ලා ගැනීම නැතිවෙන කොට, දැන් මෙතන තියෙන්නෙ - අර කොන් දෙක විතරයි.

අල්ලා ගැනීම තිබෙන තුරු මේ වටරවුමේ කරකැවිල්ලෙන් තමයි අර කොන් දෙකටත් තැනක් ලැබෙන්නෙ. කොන් දෙක ඇත්ත වශයෙන්ම තිබෙන දේවල් හැටියට පේන්නෙ, දැන් මෙතන ඇදීම-හෙළීම, මේක චක්‍රයක් වගේ යනව. හුස්ම ඇදීමත් හෙළීමත්. ඇදගන්න කෙනෙක් නෑ. ඒ තුළින් කෙරෙන්නෙ අනාත්ම දර්ශනය පිළිගැනීමක්. ඒ වගේම, දැන් මෙතන අර තෘෂ්ණාව ක්ෂය වෙන්න උපකාර වෙනව කලකිරීම. මේකෙ යථාස්වභාවය තමයි, මේ. උපාදානය නැතිවෙන කොට, මෙතන තිබෙන්නෙ කය හා සම්බන්ධ යම්කිසි සංස්කාරයක් - කාය සංස්කාරයක් - පමණයි. 'මමෙක්' කරන දෙයක් නොවෙයි. එතකොට ඔය විදියට දර්ශනය අතිනුත් ගැඹුරකට යනව. දැන් ඔය තත්ත්වය ඇති ඒ යෝගාවචරය ඒ තුළින් - ඒ දර්ශනය තුළින් - බලාපොරොත්තු වෙන්නෙ මොකක්ද? අතිදීර්ඝ කාලයක් සංසාර පුරුදු හැටියට ඇතිකරගෙන තිබෙන ආශ්‍රව නැම්මක් තියෙනව. ආශ්‍රව - ඒ අර යමක් පල්වෙන අවස්ථාවෙ, ඒ පල්වීම නිසා ඇතිවෙන ගතියටත් 'ආසව' කියල කියනව. ඒ වගේම මේ අතිදීර්ඝ කාලයක් ඒකාකාරයෙන් කටයුතු කිරීම නිසා, සංසාරයේ පුරුදු කළ, අල්ලා ගැනීමේ පුරුද්ද- ඒකමයි මේ හැම එකේම තියෙන්නෙ. මේක කාමඋපාදාන උනත් දිට්ඨි උනත්, සීලබ්බත උනත්, අත්තවාද උනත්, මේ කොයි එකෙත් තියෙන්නෙ අල්ලා ගැනීමේ පුරුදු රාශියක්. අන්න ඒ අල්ලා ගැනීමේ පුරුදුවලින් මිදීමයි එතකොට, මේ කාමාසව, භවාසව, අවිජ්ජාසව කියන මේ ආශ්‍රව නැතිකිරීමෙන් බලාපොරොත්තු වෙන්නෙ. මේ ආශ්‍රවයන් ක්ෂය කළ පුද්ගලයයි 'ඛීණාසව'-ක්ෂීණාශ්‍රවයන් වහන්සේය කියන්නෙ. එතකොට රහතන් වහන්සේලා ඒ තත්ත්වයට පත්වෙන්නෙ අර උපාදානය අතහැරලා. 'අනුපාදා චිත්තස්ස විමොක්ඛො' කියලා සමහර වෙලාවට කියනව. උපාදානයෙන් තොරව සිත මුදාගැනීම. අන්න අර මැද තියෙන අල්ලා ගැනීම - උපාදානය අතහැරියාම, අර කොන් දෙකටත් තැනක් නැතිවෙනව, ඒකයි. ඉතින් අවබෝධය තුළින්මයි

ඒක වෙන්නෙ. දෙකොන සහ මැද වටහාගැනීම. අරමුණ පිරිහුවක් බව වටහාගැනීම - අරමුණ හැටියට මෙතෙක් ගත්තු දේ.

එතකොට, මෙන්න මේ කියන මුළාව තියෙන්නෙ සඤ්ඤාව තුළයි. ඒ සඤ්ඤාව නිසා තමයි ගැට වැටෙන්නෙ. සඤ්ඤාවෙන් මිදුන කැනැත්තාට ගැට නෑ. ඒක තමයි ඒ සූත්‍රනිපාතෙ මාගන්දිය සූත්‍රයෙ තියෙන්නෙ.

'සඤ්ඤාවිරත්තස්ස න සන්ති ගන්ථා
පඤ්ඤා විමුත්තස්ස න සන්ති මොහා'

'සඤ්ඤාවෙහි නොඇලුනු තැනැත්තාට ගැට නැත. පඤ්ඤාවෙන් මිදුන තැනැත්තාට මෝහයෝ නැත' කියලා ඔය විදියට කියවෙනව. මෙන්න මේ සඤ්ඤාවෙන් මිදීමයි කෙනෙක් බලාපොරොත්තු වෙන්නෙ. මොකද, සඤ්ඤා විරාගය ඇතිවෙන තාක් අර ගැටවැටෙනව. ගැටවැටීම නවතින්නෙ නෑ. සඤ්ඤාව පිළිබඳ කලකිරීමක් ඇතිවෙන්න ඕන. ඒ සඤ්ඤාව පිළිබඳ කලකිරීමටත් උපකාර වෙනව අන්න අර - ඒ ඇත්ත වශයෙන් කලකිරීම නොවෙයි, සඤ්ඤාවට අසු නොවී මෙනෙහි කිරීම තමයි - අර කලින් සඳහන් කළ, දැකීම් මාත්‍රය, ඇසීම් මාත්‍රය, දැනීම් මාත්‍රය, ඔය ආදියෙන් නතරවීම. ඒක අර කූඤ්ඤ දැඩිව නොගැනීමක්. "අතන රූපයක් මෙතන මම'. 'අතන සද්දයක් මෙතන මම' යෝගාවචරය - එහෙම ගන්නෙ නැතුව, මේක මේ දැකීමක්, දැකීමක්. ඒ විදියට ඒ මෙනෙහි කිරීම.

ඒ වගේම, දැන් මේ සඤ්ඤාව කරා ගෙන යන්නෙ කෙනෙක්, ඊටත් වඩා මැකින් තිබෙන ඉතාම සියුම් ධර්මයක්-ස්පර්ශය, ඵස්සය. ඊළඟට, ඒ ස්පර්ශය ඇතිවීම පිළිබඳ ධර්මතාවත් ඉතාමත්ම සියුම් කාරණයක්. ස්පර්ශය කියල කියන්නෙ දෙකක් ගැටීම. එතනම තිබෙනව දෙකක් කියන අදහස. දෙකක ගැටීමයි ස්පර්ශය කියල කියන්නේ. දළ වශයෙන් තේරුම් ගත්තහම - සමහර විට බුදුපියාණන් වහන්සේම ධර්මයෙන් උපමාව දක්වල තියෙනවා ලී කැබලි දෙකක් එකට ගැටෙන්න වගෙයි ස්පර්ශය - පහසුවෙන්ම තේරුම් ගන්නව නම් ස්පර්ශය කියන එක. එතකොට ගැටෙන්න, ගැටෙන දෙකක් තිබෙනව. ගැටෙන දෙකක් සහ ඒ දෙකේ ගැටීම. ඔන්න ඔතෙන්දී, දැන් මේ ඉන්ද්‍රිය ඥානය පිළිබඳ එක්තරා වැදගත් සූත්‍ර කොටසක් එනව මධුපිණ්ඩික සූත්‍රයෙ, මජ්ඣිම නිකායෙ. 'චක්ඛුඤ්ච පටිච්ච රූපෙච උප්පජ්ජති චක්ඛු විඤ්ඤාණං

තිණ්ණං සංගති ඵස්සො ඵස්ස පච්චයා වේදනා' ආදී වශයෙන් ඔය විදියට දිගට වාක්‍යයක් සඳහන් වෙනව. මෙතන මේ මුල්ම ටික තමයි ඇත්තවශයෙන්ම ගැඹුරු හැටියට සැළකිය යුත්තෙ-'චක්ඛුඤ්ච පටිච්ච රූපෙච උප්පජ්ජති චක්ඛුවිඤ්ඤාණං' 'පටිච්ච' කියන වචනෙ තියෙනව. 'උප්පජ්ජති' කියන වචනෙ තියනව. ඇසත් රූපයනුත් - 'නිසා' කියන වචනයට 'පටිච්ච' කියල ගන්න පුළුවන්. 'චක්ඛුඤ්ච පටිච්ච රූපෙච උප්පජ්ජති චක්ඛු විඤ්ඤාණං'. ඇසත් රූපයනුත් නිසා චක්ඛු විඤ්ඤාණය හටගන්නව. ඒ කියන්නෙ, විඤ්ඤාණය කියන එක, නිකම්ම, වෙනමම, තියෙන දෙයක් නොවෙයි, ඒක හැමතිස්සෙම 'පටිච්ච'-යම්කිසි කාරණා දෙකක් නිසා ඇතිවෙන දෙයක්. ඇස-ආධ්‍යාත්මික ආයතනය, රූප-බාහිර ආයතනය-ආයතන වශයෙන් සැළකුවහම-ඒ දෙක එකතු වෙලයි, ඒ දෙක එකතු වුනහමයි-මේ චක්ඛු විඤ්ඤාණය කියන එකක් ඇති වෙන්නෙ. මෙන්න මෙතනම තමයි පටිච්ච සමුප්පාදය කියෙන්නෙ. මේ කියන්නෙ විඤ්ඤාණ මායාවෙ ඇතුල් පැත්ත දැකීම කියන එකයි. ඇතුල් පැත්ත දැකිය යුතුව තිබෙනව. විඤ්ඤාණය මායාවක් නම් ඒ මායාකාරී විඤ්ඤාණය ඇතිවෙන්නෙ කොහොමද? ඇස පිළිබඳ විඤ්ඤාණය, කණ පිළිබඳ විඤ්ඤාණය ආදී වශයෙන් ඒ විඤ්ඤාණ හයක් තිබෙනවා, අවසාන වශයෙන් මනසක් හා ධර්මයන් ගැටෙන තැන, ඒ මනෝ විඤ්ඤාණය-මනසත් ධර්මයනුත් එකතුවෙලා. නමුත් මෙතන කියවෙන්නෙ, මේ එක එක අරගෙන බැලුවහම, ඇසත් රූපයනුත් නිසා ඇස පිළිබඳ විඤ්ඤාණය හටගන්නව. 'නිසා' මයි හටගන්නෙ, දෙකක් එකතුවුනහමයි මේ විඤ්ඤාණය හටගන්නෙ. මේ විඤ්ඤාණය කියන එක වෙන විදියකට ගත්තොත් අපට හිතන්න පුළුවන්-වෙන්කර දැනගැනීම යි විඤ්ඤාණය කියල කියන්නෙ. යම්කිසි අවස්ථාවක 'මේ ඇසයි, මේ රූපයයි' කියලා වෙන්කර ගත්ත නම්, අන්න ඒ අවස්ථාවෙ තමයි විඤ්ඤාණය. මේ දෙක එකතුවෙනව. එකතුවුනාම අර මුලාව ඇතිවුන. ඊළඟට තියෙන්නෙ මොකක්ද, මේක දැන්, ඇසත්, රූපයත්, ඇසත් රූපයත් නිසා හටගත්තු චක්ඛු විඤ්ඤාණයත් කියල මේ තුනම තිබෙනව. තුන හැටියට ගන්නව. 'තිණ්ණං සංගති ඵස්සො' මේක තුනක් හැටියට ගැනීමමයි ඵස්සය. එතන මහ ගැඹුරු අදහසක් තිබෙනවා. ඇසත් රූපයත් නිසයි ඇස පිළිබඳ විඤ්ඤාණය හටගන්නෙ. හටගත්තට පස්සෙ අමතක කරනව-අමතක කරගන්නවා වගේ වැඩක් සිද්ද වෙනව-මේ චක්ඛුවිඤ්ඤාණය මේ දෙක නිසා හටගත්තු එකක්. මේක 'නිසා-හටගත්තු' එකක් කියන එක අමතක වෙල, ඒක තුනක් හටියට ගණිනව. ඇසයි, රූපයයි, ඇස පිළිබඳ විඤ්ඤාණයයි. මේ තුනම-තුනක් හැටියට අරගෙන ඒක

දිගට ගෙනයාමම තමයි 'ඵස්ස' කියන අවස්ථාව - තිණ්ණං සංගති ඵස්සො'. 'සංගති' කියල කියන්නෙ 'එක්ව යෑම'. මේ තුනෙහි එක්ව යෑම. ඇසත් රූපයත්, ඇස පිළිබඳ විඤ්ඤාණයත් මේක තුනක් හැටියට අරගැනීම තුළින්මයි 'ඵස්ස' කියන අවස්ථාවක් එන්නෙ. ඇත්ත වශයෙන් චක්ඛුවිඤ්ඤාණය හටගන්නෙත් අර දෙක එකතුවීමෙන්. එහෙම නැතුව නිකං විඤ්ඤාණයක් කියල දෙයක් නෑ. නමුත් ඒ චක්ඛුවිඤ්ඤාණය ඉපදීමෙයි කියන්නෙ, ඇස වෙන්කරගත්ත, රූපය වෙන් කරගත්ත, ඔන්න දෙකොන. එතන කියන්නෙ, අර දෙකොනක් හදාගත්ත. කූඤ්ඤ දෙකක් ගහගත්ත කියල ගත්තත් වරදක් නැහැ. මේ ආධ්‍යාත්මික ආයතනයයි අර බාහිර ආයතනයයි. දැන් අර මුල් මෙනෙහි කිරීම් ආදියෙ දෝෂයක් හැටියට දැක්වුවෙත් ඒකයි. මෙතන යෝගාවචරය අතන රූපය, මෙතන යෝගාවචරය අතන සද්දය. ඒ විදියටයි ඒ ආරම්භයෙදි කෙරෙන්නෙ. ඒක අර ලෝකයාගේ මුලාව. ටික ටිකයි මේකෙන් මිදෙන්න සිද්දවෙන්නෙ, නමුත් මෙතන තියන ගැඹුරුම කාරණය මොකක්ද? අවසානයෙදි තේරෙනව, දැන් අර කලින් කිව්ව වගේ මිරිඟුවක් මේක. මේක මිරිඟුවක් නම්, මුවෙකුට මිරිඟුව පේන කොට ඒක මිරිඟුවක් බව මුවා දන්නෙ නෑ. පිපාසයෙන් ඉන්න මුවාට මොකක් වුනත් පේන්නෙ වතුර වගේ-ඒ පිපාසය නිසාම. ඊළඟට, දණිනයත් පැහැදිලි නෑ-කලන්ත වෙල ඉන්න මුවාට. එතකොට අර පේන එක ඇත-මොකක් හරි ඒ කාලගුණික දේශගුණික තත්වයක් නිසා අර පොපියන ගතියක් පොළොවෙන් උඩට-ඒ වතුර එහෙම ගලන්න වගේ යම්කිසි පෙනුමක් තිබෙනව ඇතට-ඒකට මුවා ඊ. වටෙනව වතුරෙයි කියල. ඒකට මුවා පාවිච්චිකරන වචනය 'වතුර'. අර ලෝකයා පෙනෙන දේට 'ස්ත්‍රිය' 'පුරුෂයා' ආදී වශයෙන් ඒ එක එක නම් දුන්න වගේ, ඒ අර පෙනෙන දේට-ඒ මිරිඟුවට-නමක් දෙනව. ඉතින් අන්න ඒ වගේ දෙයක් තමයි මේක රූපයක් හැටියට ගත්තොත්, මේක දැඩිව 'රූපයක්'-'අතන රූපයක් මෙතන මම, 'අතන සද්දයක් මෙතන මම'-එහෙම ගත්තොත්.

එතකොට, මෙතන මේ ඇත්තවශයෙන් තියෙන්නෙ දැකීම් මාත්‍රයක්, යම්කිසි. ඒක කෙරෙන්නෙ අර කොන් දෙකට තැනක් දීමෙන්. කොන්දෙක-මේ ආධ්‍යාත්මික ආයතනයයි බාහිර ආයතනයයි. ඒ දෙකට තැනක් දීම නිසාම-ඒ දෙක නිසාම, වෙන් කරල ගැන්ම, මිනීම නිසාම-ඊළඟට ඒ දෙක හැපෙනව කියන ප්‍රඥප්තියකුත් එනව. දෙකක් හැටියට ගත්තට පස්සෙ ඒ දෙක හැපෙනව කියන ප්‍රඥප්තියකුත් මතුවෙනව. ඔන්න ස්පර්ශය. ඒක තමයි ස්පර්ශය. ඒ ස්පර්ශයෙන් පස්සෙ

තමයි, ඒක ප්‍රත්‍යය කරගෙන තමයි, ඊළඟට වේදනා, සඤ්ඤා ආදි ඔක්කොම-අනිකුත් සියල්ලම, තර්ක විතර්ක ආදිය දක්වාම ගෙනයන්නෙ. ඒකයි එතකොට මෝහය, එහෙම නැත්නම් ඒ මුලාව, අවිද්‍යාව. මෙන්න මේ තත්ත්වය දැකීමට උපකාර වන දර්ශනය මොකක්ද? අර විඤ්ඤාණයේ පටිච්ච සමුප්පන්න බව-විඤ්ඤාණය හට ගැනීම-දැනගැනීම. ඒකත් සියුම් මනසිකාරය තුළින් කළ යුත්තක්. සඤ්ඤා දැලට හසුනොවන තරම් ශීඝ්‍රව මෙනෙහි කිරීමෙන්,-දැනීම් මාත්‍රයෙන් නතරවීමෙන්-තමයි ඒ විඤ්ඤාණයෙ ඇතුල්පැත්ත දැකිය හැකි වන්නෙ. ඇසත් රූපයත් නිසාම චක්ඛු විඤ්ඤාණය හටගන්න බවත්, ඊළඟට ඇසත් රූපයත් කියන ඒ දෙකොන, දොකොනක් හැටියට අල්ලාගැනීමෙන්ම, චක්ඛු විඤ්ඤාණය නමැති මැද ඇතිවන බවත් දැනගැනීම. දැන් මෙතන, දෙකොනක් සහ මැදක් පිළිබඳ කථාන්තරය ඉතාම ලස්සනට දක්වල තියෙනව අංගුත්තර නිකායෙ ඡක්ක නිපාතයෙ පාරායණ සූත්‍රයෙ.

'යො උභන්තෙ විදිත්වාන
මජ්ඣෙ මන්තා න ලිප්පති
තං බ්‍රෑමි මහාපුරිසොති
සො'ධ සිබ්බනිමච්චගා'

ඇත්ත වශයෙන්ම එතන දැක්වෙන්නෙ අර සුත්ත නිපාතයේ පාරායණ වග්ගයේ බුදුපියාණන් වහන්සේ දේශනා කළ ගාථාව. මෙතන මේ අටුවාවක් සඳහා ඒ පාරායණ සූත්‍රයේදී දක්වල තිබෙනව, මේ ගාථාවෙ අර්ථය මොකද කියල. ඒක නොයෙකුත් ආකාරයෙන් විග්‍රහ කරල තිබෙනව, ගැඹුරෙන්. මේ ගාථාව එතකොට බුද්ධ වචනයක් හැටියට සුත්තනිපාතයෙයි මුලින්ම සඳහන් වෙන්නේ. උද්ධෘත වශයෙන් අංගුත්තර නිකායෙ සඳහන් වෙනව. එතනින් තමයි කෙනකුට අවබෝධයක් ලබන්න පුළුවන් මේ කෙටි ගාථාවේ කොයි තරම් ගැඹුරක් තිබෙනවද කියල. සංඝයා වහන්සේල කීපනමක් ඒක පිළිබඳව සාකච්ඡා කළා, ධර්ම සාකච්ඡාවක් හැටියට. මේ ගාථාවෙ අදහස, 'යො උභන්තෙ විදිත්වාන' 'යමෙක් කොන් දෙක තේරුම් අරගෙන', මජ්ඣෙ මන්තා න ලිප්පති' - 'ප්‍රඥාවෙන් මැද නොඇලෙයිද' - යමෙක් කොන් දෙක තේරුම් අරගෙන, ප්‍රඥාව පිහිට කරගෙන මැද

---

1. මහාවෙදල්ල සු. මජ්ඣිම නිකාය

නොඇලෙයිද' - තං බ්‍රෑමි මහාපුරිසොති' - ඒ තැනැත්තාට මම මහා පුරුෂයා යයි කියමි - 'සො ඉධ සිබ්බනිං අච්චගා' - ඒ තැනැත්තා මේ ලෝකයේ සිබ්බනී නම්වූ මැහුම්කාරියගෙන් මිදෙයි. 'මැහුම්කාරිය' කියන වචනය යොදනව තණ්හාවට. තණ්හාව මැහුම්කාරියක් හැටියට. මැහුමක් ගෙතුමක් කරන තැනැත්තියක් හැටියටයි. ගැට වැටෙන අදහසයි මෙතන තිබෙන්නෙ. ඒ තණ්හාවෙන් තමයි මේ ගැට ගහන්නෙ. මේකට උපකාරවෙන අර කොන් දෙක සහ මැදයි මෙතන කියැවෙන්නෙ. කොන් දෙකක් සහ මැද. ඒක නොයෙකුත් ආකාරයෙන් තේරුම් කරල තිබෙනව. එකක් තමයි, ආධ්‍යාත්මික ආයතන හය එක අන්තයක් බාහිර ආයතන හය දෙවෙනි අන්තය, මැද විඤ්ඤාණය. ඒ ඒ ආයතන පිළිබඳ විඤ්ඤාණයයි එතන අදහස් කෙරෙන්නෙ. එතකොට මෙතන මේ විඤ්ඤාණය කියන මේ මැදට ඉඩක් සැලසෙන්නෙ අර දෙක කොන් දෙකක් හැටියට ගැනීමෙන්. ඒ කිව්වෙ කුඤ්ඤ දෙකක් ගහගැනීමෙන්. මේ ඇහැයි මේ රූපයයි, මේ කනයි මේ සද්දයයි කියල. මෙන්න මේ තත්ත්වය දැකීමට යොදපු වචනය, අපට කියන්න පුළුවන්, 'ආයතනුප්පාදය' කියල. ආයතන හටගන්න ආකාරය. ඉතාමත්ම වටිනා දේශනාවක් තියෙනව අංගුත්තර නිකායෙ ඡක්ක නිපාතයෙ සොණ සූත්‍රයෙ. ඒ සූත්‍රයෙ වටිනා ගාථා කීපයක් සඳහන් වෙනව, එක ගාථාවක් තමයි:-

'තණ්හක්ඛයාධිමුත්තස්ස
අසම්මොහඤ්ච චෙතසො
දිස්වා ආයතනුප්පාදං
සම්මා චිත්තං විමුච්චති'

'තණ්හක්ඛයාධිමුත්තස්ස අසම්මොහඤ්ච චෙතසො' - තෘෂ්ණාව ක්ෂය කිරීමෙහි යෙදුනු, ඊට හිත යොදා ගත්තු තැනැත්තාගේ, යෝගාවචරයාගේ - ඒ වගේම, 'අසම්මොහඤ්ච චෙතසො' සිතෙහි අසම්මොහය - සිත මුළාවෙන් මුදාගැනීම සඳහා යෙදුනු යෝගාවචරයා පිළිබඳව - ඊළඟට කියවෙන්නෙ මොකක්ද? 'දිස්වා ආයතනුප්පාදං සම්මා චිත්තං විමුච්චති' - ආයතනයන්ගේ හටගැනීම දැකල, ඒ යෝගාවචරයාගේ සිත විමුක්ත වෙනව. හොඳින් විමුක්ත වෙනව. එතකොට, ආයතනයන්ගේ හටගැනීම දැකීමෙන් සිත විමුක්ත වෙනව. එයින් අපට හිතාගන්න පුළුවන්, ආයතනයන්ගෙ හටගැනීම නොදැකීමෙන් තමයි, මේ බන්ධනය - මේ සංසාර බන්ධනය - යන්නෙ දිගට. අපි අර කිව්වෙ කලින්ම - අර දෙකොන පිළිබඳ ඒ අවබෝධය

නැතිතාක්, මැදටත් ඉඩක් ලැබෙනව. ඇසත් රූපයත් කියන ඒ දෙකොන අල්ලාගන්න තාක් චක්ඛු විඤ්ඤාණයට ඉඩ ලැබෙනව. ඒ මොකද? චක්ඛු විඤ්ඤාණය කියල කියන්නෙම ඇසත් රූපයත් දෙකක් හැටියට ගැනීමමයි. හරියට අර මිරිඟුව ගැන කථා කරනව නම්, මුවා කල්පනා කරනව - 'මා මෙතනයි වතුර අතනයි'. 'මා මෙතනයි වතුර අතනයි'. එහෙම හිතාගෙනයි මුවා අර මිරිඟුව දෙසට දුවන්නෙ. හිතට දීලා තියන 'විඤ්ඤාණය' - වෙන් කර ගැනීම - වැරදියි, මුල ඉඳලම. ඒක නිසයි මුවා කෙළවරක් නැතිව දුවන්නෙ. යන්න යන්න, අර පෙනෙන වතුර ඈත්වෙනව. ඔන්න ඔය විදියෙ තත්ත්වයක්. එතන තියෙන්නෙ මිරිඟුව. එතන ඒ මුවා ක්‍රියාත්මක වෙන්නෙ, මුවාගෙ හිතට වැදිලා තිබෙන විඤ්ඤාණයෙන්-චක්ඛු විඤ්ඤාණයෙන්. අන්න එතකොට අර කුඤ්ඤ දෙකක් ගැහුව වගේ. 'මගේ ඇහැ මෙතන තිබෙනව, අතන වතුර තිබෙනව. ඒක නිසා එහෙන්ට ගියාම ඒ වතුර දකින්න පුළුවන්, බොන්න පුළුවන්, කියල හිතාගෙන දුවනව. ඒ වගේ දෙයක් මෙතනත්. ඇසත් රූපයත් කියන මේ දෙකොන, එතන කුඤ්ඤ ගහගත්ත. ඇසත් රූපයත් තියනව කියල ඒවට සත්‍ය තත්ත්වයක් දුන්න. දීල, එතකොට ඒ වෙන් කිරීමම තමයි විඤ්ඤාණය කියල කියන්නෙ.

මේ තත්ත්වය හොඳටම අවබෝධ වන අවස්ථාව තමයි කෙනෙකුට, අර මෙනෙහි කිරීම ඉතාමත්ම ශීඝ්‍රව කරන කොට, සිතට එන අදහස පවා - සිතට එන සිතිවිල්ලක් - ඊට මුළාවනු වෙනුවට ඒක සිතිවිල්ලක් හැටියට මෙනෙහි කරනව. ඒක එතනම නතර වෙනව - හිඩීමක් හැටියට. එතනම නතරවෙනව. සාමාන්‍යයෙන් අරමුණ කියන්නෙ එල්බ ගන්න දේ. හිතේ ස්වභාවය, මෙච්චර දීඝ කාලයක් සංසාරයේ එල්බ ගැනීමෙන් පුරුදු කරගත්තු හිතේ ස්වභාවය, එන එන හැම එකකම - මොහොතක හරි, පිදුරු ගහක හරි, එල්ලෙනව. මේ භවයේ රැඳීමට තිබෙන ආසාව නිසා. මහා ප්‍රපාතයකට වැටෙන මිනිහෙක් පිදුරු ගහක හරි එල්ලෙන්න වගේ, මේ පැවැත්මෙ කොයිතරම් දුක් කරදර විත්දත් මේකට තියන ආසාව, තණ්හාව නිසා, දැඩි ආසාව නිසා, 'පොනොභවික' තණ්හාව නිසා, මේක අල්ලගෙන මේකෙ කොතනක හරි එල්ලිල ඉන්නයි බලන්නේ. ඒ විදියට, දැන් මෙතනත් මේ අරමුණ. මනස ඒ අරමුණෙහි එල්බ ගන්න ස්වභාවයක් තියෙනව. ඇසට යමක් නොපෙනුණත්, කනට යමක් නොඇහුනත්, සිතට එන සිතිවිල්ල අරමුණක් වශයෙන් ගෙන, මේ හිතන්නේ මමයි, මේ මගේ හිතට එන අරමුණක්' කියල ඒක පිළිබඳව දෙකක් හැටියට අල්ලා

ගැනීමේ සිරිතක් තිබෙනව. ඒ අල්ලගන්නතාක් ඔන්න මනොවිඤ්ඤාණයට තැන ලැබෙනවා. විඤ්ඤාණය කියන්නෙ මායාවක් නම්, මේ මායාව තේරුම් නොගත්ත ස්වභාවයක් ඒ මනොවිඤ්ඤාණයෙ පැවතීමෙන් පෙන්නුම් කරන්නෙ. 'දිස්වා ආයතනුප්පාදං සම්මා චිත්තං විමුච්චති' කියල ප්‍රකාශ කළේ ඒ සළායතනයන් පිළිබඳව එන අරමුණු ශීඝ්‍රයෙන් මෙනෙහි කරල, සියුම්ව මෙනෙහි කරල, ඒවයි එල්බගන්නෙ නැතිව, ඒ ඒ තැනම 'ලත් තැනම ලොප් කිරීමේ' විදියට ඒ මනසිකාරය කරගෙන යන යෝගාවචරය යම්කිසි අවස්ථාවක, 'බලාපොරොත්තු' නැති අවස්ථාවක සමහරවිට, අර සිතට එන සිතිවිල්ලත් - ඒකත් - ශීඝ්‍රයෙන් මෙනෙහි කිරීම නිසාම, අන්තිම මොහොතෙ ඒක හිටිනව. 'අසම්මොහඤ්ච චෙතසො' - ඔන්න එතෙන්දි මෝහය ඉවත් වෙනව. ආයතනයන් හටගැනීම දැකීමමම තමයි ආයතනයන්ගේ නිරෝධය. ඒක මහා පුදුම කියමනක්, බැලූ බැල්මට. ආයතනයන්ගෙ හට ගැනීම දැකීමෙන්ම ආයතනයන් නිරුද්ධවෙනව. ඒ මොකද? නිරුද්ධ වීම - නිරෝධය - මෙතෙක් නොපෙනුනෙ අරක නොදැකීම නිසයි. ඒ කියන්නෙ. අර තෘෂ්ණාවෙ තියන ඇලීම නිසා, නැවත නැවත මේක හටගන්වා ගැනීමට තියන උත්සාහය නිසා, සමුදය පක්ෂය දිහාම බලාගෙන හිටිය නිසා, නිරෝධය පෙනුනෙ නැහැ. ඒක තමයි අර සුත්ත නිපාතයෙ ද්වයතානුපස්සනා සූත්‍රයෙ එහෙම සඳහන් වන්නෙ.

'යෙ ච රූපූපගා සත්තා - යෙ ච අරූපට්ඨායිනො
නිරොධං අප්පජානන්තා - ආගන්තාරො පුනබ්භවං'

රූප ලෝකවල ඉන්න අයත් අරූප ලෝකවල ඉන්න අයත් හැමදෙනෙක්ම - 'නිරොධං අප්පජානන්තා' - නිරෝධය තේරුම් නොගැනීම නිසයි නැවත නැවත භවයට එන්නෙ. ඒක සියුම්ව තේරුම් ගත්තොත්, එතන තියෙන්නෙ, සමුදය පක්ෂයෙහි හිත යෙදීම නිසා නිරෝධය සැඟවිලයි තියෙන්නෙ. යමක් නිරෝධවෙනවත් එක්කම සමුදයටයි හිතයන්නෙ. තණ්හාවෙන් ඒක - 'පොනොභවිකා' - තල්ලු කරනවා 'මේක නැතිඋනාට අන්න අනිත් එක අල්ලගන්න' කියල. ඉතින් ඒ විදියට අර ශීඝ්‍රව මෙනෙහි කිරීම මෙතන මාරයත් එක්ක කරන සටන වගේ, ඉතාම ශීඝ්‍රයෙන් මෙනෙහි කරගෙන යන අවස්ථාවෙ කොතෙකුට අර සිතට එන අරමුණ - ඒ අරමුණේ එල්බ ගන්නෙ නැතිව මෙනෙහි කිරීමෙන් එතනින්ම මුලාව වටහගන්නව. ඒ අවස්ථාවෙදි තමයි අන්න ආයතනයන්ගෙ ඉපදීම දුටුවෙ,. පළමුවෙනිවරට. මෙච්චර කාලයක් සැඟවිල තිබුන කාරණයක්. මේ ආයතන කොහොමද

ඉපදෙන්නෙ? මේවා, මේ ආයතන, සත්‍ය දේවල් හැටියටයි ගත්තෙ. ඒව වෙන් කරගෙන, ඒවා නිසා ස්පර්ශ කියන අවස්ථාවක් මවාගෙන, මේ මුළාවකයි දැවටිල හිටියෙ. ඒක නිසාම ගැටවලට - අර තණ්හා මැහුම් කාරියගෙ ගැටවලට - අහුවෙල හිටියෙ. ඒ මොකද? මේ විඤ්ඤාණය ප්‍රත්‍යයක් ඇති කල්හිම පැනනඟින බව නොදැකීමෙන්. චක්ඛු විඤ්ඤාණය නිතරම ප්‍රත්‍යයක් අරගෙනම ඇතිවෙනව නම් ඒක ආත්මත්වයෙන් 'මමෙයි' කියල ගන්න බෑ. එතකොට ඒක ප්‍රතීත්‍ය සමුත්පන්නයි. පටිච්ච සමුප්පාදය දැකීම එතනයි. මේ ආයතනුප්පාදය දැකීම තුළ තියෙන්නේ පටිච්ච සමුප්පාදය දැකීමයි. සළායතනය මාධ්‍යයෙන්ම, සළායතනය පිහිටකරගෙනම - යෝගාවචරය පටිච්ච සමුප්පාදය දකිනව. 'චක්ඛුඤ්ච පටිච්ච රූපෙච උප්පජ්ජති චක්ඛුවිඤ්ඤාණං' කිව්වෙ ඒකයි. 'ඇසත් රූපයනුත් නිසයි ඇස පිළිබඳ විඤ්ඤාණය හටගන්නෙ. ඒක නොදකින තාක්, ඇසින් ඒ විඤ්ඤාණය වෙන්කරගෙන, ඇස වෙන්කරගෙන, රූපය වෙන්කරගෙන, තුනක් හදාගන්නව. ඒ 'තුනක්' කියන ඒ මුලාව යනතාක් - 'තිණ්ණං සංගති' - ඔන්න ඒ තුනක් එකට ගැනීමෙන්ම 'ඵස්ස' කියන අවස්ථාවට තැනක් ලැබෙනව, ස්පර්ශයක් - ස්පර්ශ තත්ත්වයක්. ඒක ස්පර්ශයක් හැටියට සළකනව. එතකොට ඒකම තමයි ස්පර්ශය අවබෝධ කරගැනීම කියල කියන්න පුළුවන්. විඤ්ඤාණය අවබෝධ කරගැනීමමයි. එහෙම නැත්නම් සඤ්ඤාව, එහෙම නැත්නම් පටිච්ච සමුප්පාදය තේරුම් ගැනීමයි. කොයි ආකාරයකින් කිව්වත්, අර මුවාට ඒ පෙනෙන මිරිඟුව - ඒ සඤ්ඤාව - 'මිරිඟුවක්'. නමුත් අර මුවා දුවවන්නේ, මුවාගෙ දිවීම තුළ තිබෙනව, මායාවක්, මායාකාරී ස්වභාවයක්. මායාවක් එක්කයි මුවා දුවන්නෙ. ඒ වගේ, මේ ආයතනයන්ගේ මේ තිබෙන මුලාව යම්කිසි අවස්ථාවක යමෙකුට තේරුන නම්, යමෙකුට වැටහුණ නම්, අන්න ඒ අවස්ථාවෙයි අර ක්ෂීණාශ්‍රව තත්ත්වය. ආශ්‍රව - දීඝ සංසාරයෙ පුරුදුකරගෙන ආපු අර එල්බගන්න ගතිය, අල්ලගන්න ගතිය, ඒක ලිහිල යනව. අන්න ඒ අදහස තමයි ඉතින් අර 'සඤ්ඤා විරත්තස්ස න සන්ති ගන්ථා' - සඤ්ඤාවන් පිළිබඳ නොඇල්මක් මෙතන තිබෙනව. 'පඤ්ඤාවිමුත්තස්ස න සන්ති මොහා' - ප්‍රඥාවෙන් මිදීම. ප්‍රඥාවෙන් ඒ තත්ත්වය දුටුවෙ. පඤ්ඤා ආලෝකයෙනුයි විඤ්ඤාණය අවබෝධ කරන්නෙ, විඤ්ඤාණයේ යථා ස්වභාවය. 'පඤ්ඤා භාවෙතබ්බා, විඤ්ඤාණං පරිඤ්ඤෙය්‍යං[1]' කියල තිබෙනව. විඤ්ඤාණය තේරුම් ගතයුතු

---

1. මහාවෙදල්ල සූ. මජ්ඣිම නිකාය

දෙයක්. පඤ්ඤාව වැඩිය යුතු දෙයක්. ප්‍රඥාව වැඩීමෙන්මයි විඤ්ඤාණයෙ යථා ස්වභාවය දකින්නෙ. හරියට අර යම් කිසි චිත්‍රාකාරයකුගෙ චිත්‍රවක හෝ නැත්නම් නාට්‍යයක ඇති ඇතුල්පැත්ත, යම්කිසි මුළාවක ඇති ඇතුල්පැත්ත, දැකීම වගේ දෙයක් තමයි ප්‍රඥාව කියල කියන්නෙ. ප්‍රඥාව දියුණුවීමෙන්, ක්‍රම ක්‍රමයෙන්, මේක විනිවිද දැකීමක් - ඇත්ත වශයෙන් කෙරෙන්නෙ. ඒක තමයි 'නිබ්බේධිකා පඤ්ඤා' කියල කියන්නෙ. මුළු මහත් ශාසනික ප්‍රයත්නය ප්‍රඥාව දියුණු කරගැනීම සඳහායි. අවසානය ප්‍රඥාවයි. ප්‍රඥාවෙන්මයි අර විඤ්ඤාණයෙ යථා ස්වභාවය තේරුම් ගන්න පුළුවන් වන්නෙ. ඒ ප්‍රඥාව තුළින් විඥානයෙ ඇතුළත තිබෙන මෝහය අවබෝධ කරගන්නව. ඒ යථාස්වභාවය ප්‍රඥාවෙන් දුටුව නම්, ඒ තැනැත්තාගේ මෝහය නැතිවෙනව. මෝහාන්ධකාරය නැතිවුනා. අවිද්‍යාන්ධකාරය, මෝහාන්ධකාරය, නැතිවෙන්නෙ ප්‍රඥාප්‍රභාවයෙන්.

'චතස්සො ඉමා භික්ඛවෙ පභා[1]' කියල බුදුපියාණන් වහන්සේ ප්‍රභා හතරක් දක්වල තියෙනව. චන්දප්පභා' සූරියප්පභා' අග්ගිප්පභා' - අවසාන වශයෙන් දක්වන්නෙ 'පඤ්ඤාපභා'. ප්‍රඥාප්‍රභාව. අන්න ඒ වගෙ මේ ප්‍රඥාප්‍රභාවෙන් තමයි අර කෙනෙකුගෙ මෝහාන්ධකාරය ඉවත්වෙන්නෙ. ඒ ප්‍රඥාප්‍රභාවෙන් ක්ෂීණාශ්‍රවයන් වහන්සේගේ සිත ප්‍රභාස්වර වෙනව. ඒ සිත ප්‍රභාස්වරයි. ක්ෂීණාශ්‍රවයන්වහන්සේගේ සිත ප්‍රභාස්වරයි. එම නිසා ජෝතිමත්, අන්න ඒ ජෝතිමත් කියන වචනය - ඛීණාසවා ජුතීමන්තො.' අර මත්වෙන ආශ්‍රවයන්, අර අල්ලාගැනීමේ පුරුදු - ඒව ඉවත්වෙලා කාමාසව, භවාසව, අවිජ්ජාසව ඉවත්වෙල, ඊළඟට විඤ්ඤාණයෙ යථාස්වභාවය, දැකීමෙන් ඒ ප්‍රඥා ප්‍රභාව නිසා, සිත ජොතිමත් - ජුතීමන්තො'.

එයින් අපට පේනව, එතකොට පටිච්ච සමුප්පාදය දැකීමම ඒ පටිච්ච සමුප්පාදයෙන් මිදීමක් බව. පටිච්ච සමුප්පාදයෙ සමුදය නිරෝධය කියල දෙකක් තියෙන්නෙ. ඒ සමුදය දුටුව නම් එතනම නිරෝධයත් ප්‍රත්‍යක්ෂයි. මේව හැම එකක්ම පටිච්ච සමුප්පන්නයි. පටිච්ච සමුප්පන්නයි හැම දෙයක්ම. 'යං කිඤ්චි සමුදයධම්මං සබ්බං තං නිරොධධම්මං" යමක් ඇතිවෙනව නම් ඒක නැති වෙන ස්වභාවය ඇති දෙයක්. ඒ ටික නොපෙනෙන්නෙ අර උපාදානය නිසා. මේ ළිඳ හිස් කිරීම නොවෙයි සාමාන්‍ය ලෝකයා කරන්නේ. මේකෙන් වතුර අරගෙන

---

1. ආභාවග්ග, චතුක්ක නිපාත, අංගුත්තර නිකාය.

යමක් කරගැනීමටයි බලාපොරොත්තු වෙන්නෙ - ප්‍රයෝජනයක් ගැනීමටයි. නමුත් මේ ප්‍රයෝජනය කොච්චර ගත්තත් කෙළවරක් නෑ. ඉතින් යම්කිසි අවස්ථාවක ළිඳ හිස්කිරීමට - ශූන්‍යත්වය දැකීමට - යෝගාවචරයා යොමුවෙනව නම්, අන්න එතකොට මේකෙ දෙයක් නෑ, ළිඳ හිස්වුනාද කියල බලනව මිසක්. වතුර ගන්නව හෙළනව, ගන්නව හෙළනව, හුස්මත් එහෙමයි - ගන්නව හෙළනව, ගන්නව හෙළනව. අල්ල ගැනීමක් නෑ. ඔන්න ඔය විදියට ඒ තත්ත්වයට ගිය පුද්ගලයා පිළිබඳව යොදන වචන තමයි 'තෙ ලොකෙ පරිනිබ්බුතා' ඒ ක්ෂීණාශ්‍රවයන් වහන්සේලා ලෝකයේ පිරිනිවියාහුය. එතන පිරිනිවියාහුය කියල කියන්නෙ අතීතයේ පිරිනිවීල ඉවරයි එහෙම නැත්නම් උන්වහන්සේලා අනුපාදිසෙස පරිනිබ්බාන ධාතුවෙන් නිවන් දුටුවා කියල අවසාන - චරිම - චිත්තයෙන් ඒ රහතන්වහන්සේල නැතිවුන අවස්ථාව නොවෙයි මෙතන දැක්වෙන්නෙ. 'තෙ ලොකෙ පරිනිබ්බුතා' - උන්වහන්සේලා ලෝකයේ පිරිනිවියාහුය. ජීවත්වෙන්නෙත් නිවිල. උන් වහන්සේලා ලෝභ දෝස මෝහ කියන ගිනි නිවාගෙනයි ජීවත්වෙන්නෙ. අර උපාදානය කියන එක ඉන්ධන ද්‍රව්‍ය - දර - ආදියටත් යෙදෙන වචනයක්, ධර්මයේ. අල්ලාගැනීම කියන එක පමණක් නොවෙයි. එතකොට සිතින් අල්ලා ගැනීමක් නැතිනිසා, ඒ අල්ලාගැනීම නිසා ඇතිවන භවගින්න - එකොළොස් ආකාර මේ භව ගින්න - එකෙන්දී සන්සිඳුනා: භවනිරොධො නිබ්බානං, භව නිරොධො නිබ්බානං' කියල සමහරවිට දක්වල තියෙනව, භවනිරෝධය ප්‍රත්‍යක්ෂ කිරීමයි. මෙතෙන්දී සිතේ ප්‍රත්‍යක්ෂය දක්වන්නේ. ඒ භවනිරෝධ ප්‍රත්‍යක්ෂයෙන් ඒ පුණ්‍ය නිවීම රහතන් වහන්සේලා අත්දකිනව, ප්‍රත්‍යක්ෂ කරනගන්නව, භුක්ති විඳිනව, මේ ලොකෙ.

දැන් එතකොට, මේ ගාථාව තුළින් අපට මේ භාවනාවට අදාල කාරණා රාශියක් - විදර්ශනාවට උපකාර වන කාරණා රාශියක් මතුකරගන්න පුළුවන්, මේ වචනය කීපය නමුත්.

'යෙසං සම්බොධි අංගෙසු
සම්මා චිත්තං සුභාවිතං
ආදාන පටිනිස්සග්ගෙ
අනුපාදාය යෙ රතා
ඛීණාසවා ජුතිමන්තො
තෙ ලොකෙ පරිනිබ්බුතා'

# වෙනත් කෘති

1. Concept and Reality in Early Buddhist Thought -(1971)*
2. Samyutta Nikaya - AnAnthology, Part II - Wheel No, 183/185 -(1972)*
3. Ideal Solitude - Wheel No, 188 - (1973)*
4. The Magic of the Mind - (1974)*
5. උත්තරීතර හුදෙකලාව -'දම්සක්' අංක 172/173 - (1990)*
   -එම- (නව මුද්‍රණය), ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය (2001)
6. Towards Calm and Insight - (1991)
7. විදසුන් උපදෙස් - (1996)
8. නිවනේ නිවීම - (1997 - 2004)
   -ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය, මහා භාරකාර දෙපාර්තමේන්තුව
   (සම්පූර්ණ පොත වෙළුම් 11 කි.)
9. From Topsy - turvydom to Wisdom -Volume 1 - (1998)
   (Essays written for 'Beyond the Net, - A website on the Internet
   - Website address http:// www.beyond thenet.net)
10. පහන් කණුව ධර්ම දේශනා - 1- වෙළුම - (1999)
11. Seeing Through - (1999)
12. සිතක මහිම - 1 - (1999)
13. නිවනේ නිවීම - ප්‍රථමභාගය - (1-6 වෙළුම්) - පුස්තකාල මුද්‍රණය(2000)
14. සිත තැනීම - (2000)
15. පහන් කණුව ධර්ම දේශනා - 2 වෙළුම - (2000)
16. Towards A Better World -Translation of 'Lo-wada-Sangarava' - (2000)
17. පැවැත්ම හා නැවැත්ම - (2000)
18. ඇසි හැටි දැක්ම - (2001)
19. පහන් කණුව ධර්ම දේශනා - 3 වෙළුම - (2001)
20. දිවි කතරේ සැඳෑ අඳුර - (2001)
21. කය අනුව ගිය සිහිය - (2001)
22. මා-පිය උවටැන - (2002)
23. ප්‍රතිපත්ති පූජාව - (2003)
24. Nibbana - The Mind Stilled - Volume I - (2003)
25. පහන් කණුව ධර්ම දේශනා - 4 වෙළුම - (2003)
26. අභිනික්මන - (2003)
27. සිතකමහිම - 2 - (2003)
28. පහන් කණුව ධර්ම දේශනා - 5 වෙළුම (2004)
29. Nibbana - The Mind Stilled - Volume II - (2004)

* Buddhist Publication Society, P.O. Box, 61, Kandy
බෞද්ධ ග්‍රන්ථ ප්‍රකාශන සමිතිය, තැ.පෙ. 61, මහනුවර

## ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය මගින් පළකරන ලද ග්‍රන්ථ

| | ග්‍රන්ථ නාමය | | පිටපත් සංඛ්‍යාව |
|---|---|---|---|
| 01. | නිවනේ නිවීම | පළමු වෙළුම | 6000 |
| 02. | නිවනේ නිවීම | දෙවන වෙළුම | 11000 |
| 03. | නිවනේ නිවීම | තෙවන වෙළුම | 5000 |
| 04. | නිවනේ නිවීම | සිවුවන වෙළුම | 6000 |
| 05. | නිවනේ නිවීම | පස්වන වෙළුම | 5000 |
| 06. | නිවනේ නිවීම | සයවන වෙළුම | 3500 |
| 07. | නිවනේ නිවීම(පුස්තකාල මුද්‍රණය) | ප්‍රථම භාගය(1-6 වෙළුම්) | 500 |
| 08. | නිවනේ නිවීම | සත්වන වෙළුම | 3000 |
| 09. | නිවනේ නිවීම | අටවන වෙළුම | 6000 |
| 10. | නිවනේ නිවීම | නවවන වෙළුම | 3000 |
| 11. | නිවනේ නිවීම | දසවන වෙළුම | 3000 |
| 12. | නිවනේ නිවීම | එකොළොස්වන වෙළුම | 3000 |
| 13. | පහන් කණුව ධර්ම දේශනා | පළමු වෙළුම | 9000 |
| 14. | පහන් කණුව ධර්ම දේශනා | දෙවන වෙළුම | 8000 |
| 15. | පහන් කණුව ධර්ම දේශනා | තෙවන වෙළුම | 6000 |
| 16. | පහන් කණුව ධර්ම දේශනා | සිවුවන වෙළුම | 3000 |
| 17. | පහන් කණුව ධර්ම දේශනා | පස්වන වෙළුම | 3000 |
| 18. | 'හිතක මහිම' | පළමු වෙළුම | 6000 |
| 19. | 'හිතක මහිම' | දෙවන වෙළුම | 6000 |
| 20. | උත්තරීතර හුදෙකලාව | | 8000 |
| 21. | විදසුන් උපදෙස් | | 9000 |
| 22. | Towards A Better World | | 3000 |
| 23. | Seeing Through | | 3000 |
| 24. | Nibbana - The Mind Stilled | Volume I | 3000 |
| 25. | Nibbana - The Mind Stilled | Volume II | 3000 |

නැවත මුද්‍රණය කරවීම පිළිබඳ විමසීම් :-
ජී. ටී. බණ්ඩාර, ස්ථාපක, ධර්ම ග්‍රන්ථ මුද්‍රණ භාරය
රෝයල් ඉන්ස්ටිටියුට්, 191, හැව්ලොක් පාර, කොළඹ 5.